# "බලන් කඩතුරා හැර දෑසේ"

පූජ්‍ය මීවනපලානේ සිරි ධම්මාලංකාර හිමි

# හෙළ යුග මෙහෙවර

ඉර පායා අඳුර දුරලා ආලෝකය විහිදුවාලූ
අරිය උත්තමයාණෝ, සොබාදහමේ පරම සත්‍යයට
මඟ හෙළි පෑ අයුරු

**පරම සත්‍යය පෙන්වා වදාල අති පූජනීය බුද්ධ පුත්‍ර**
**මීවනපලානේ සිරි ධම්මාලංකාර මහ තෙරුණ් වහන්සේ**

කණ්ඩලම හංදියේ සිට
මීරිගම පරම නිබ්බාන ධර්මායතනය
දක්වා ඇති දුර - 2 km

අඹේපුස්ස දුම්රිය නැවතුම්පළේ සිට
පරම නිබ්බාන ධර්මායතනය
දක්වා ඇති දුර - 2 km

## පිවිසුම



www.sirisaddharmaya.net

www.helabima.sirisaddharmaya.net

මීරිගම පරම නිබ්බාන ධර්මායතනය

කණ්ඩලම
හංදිය

අඹේපුස්ස
දුම්රිය නැවතුම්පළ

මීරිගම
නගරය

වරකාපොළ

පස්යාල

# හැඳින්වීම

බුදුපියාණන් වහන්සේ පරම පවිත්‍ර සිරි සද්ධර්මය දේශණාකර වදාළේ සදාකාලිකව සැප සම්පත් විඳින දෙවියන් බ්‍රහ්මයන් සමූහයක් බිහිකරන්නට හෝ ධනවත්, බලවත්, නැණවත් මිනිසුන් සහිත ලෝකයක් ඇති කරන්නට හෝ නොවේ. දුක්විඳින දිළින්දන්ට සැප සම්පත් ලබාගන්නට මඟපෙන්වා ඔවුන් සනසාලන්නටද නොවේ. මේ උතුම් ධර්මය එවන් මතු ලබන සැප සම්පත් ගැන බලාපොරොත්තු ඇති කරවා රාගයෙන්, මෝහයෙන් මිනිසුන් මුලා කරවන්නට දේශනා කළ එකක් නොව මිනිසත් බව ලැබූ මේ ආත්ම භවයේදී ම ලබාගත හැකි, ලබාගත යුතු විමුක්තිය, නිදහස, නිවන ලබා දීමට මඟපෙන්වීම සඳහාම ඉරිදිපත් කළ ධර්මයකි. ලෞකික සැප සම්පත් යනු බිළී කොක්කක අමුණූ ඈමක්, මිරිඟුවක් මිස නියත වශයෙන් ඇති දෙයක් නොවන බව පෙන්වා දුන් දහමකි.

කර්මවාදය යනු බුදුපියාණන් ඉදිරිපත් කළ දෙයක් නොව මහාවීර නම් ජෛන ආගමික නායකයෙකු විසින් ඉදිරිපත් කල මතයකි. කර්මය යනු උත්තරීතර බලයක් හෝ අනිවාර්යයෙන් ඵලවිපාක දෙන නිවන් මඟ වසා දමන නියත හේතුවක් හෝ නොවන බවද බුද්ධ දේශනාවයි. හේතු අතහැරීමෙන් තමාම එකතු කරගත් ලෝභ, ද්වේශ, මෝහ නම් වූ කෙළෙස් මළ අතහැර, කුණු සලාහැර, ආසව ප්‍රහාණය කරදමා සියලුම කර්මජ බීජ ප්‍රහාණය කර විමුක්තිය නිවන තමාටම අත්කර ගත හැකි බව පෙන්වා දුන් උතුම් නිවන් මාර්ගයයි. වරදක් නොකළ කෙනෙකුට මෙලොව උපතක් ලැබිය නොහැකිය. මිනිසෙකු ලෙස

උපතලත් හැම කෙනෙකුටම මනසින් කල්පනා කර සියලු වරදින් පාපයෙන් මිදී අතීත කර්මජ ශක්තීන්ගෙන් ද මිදී තමන්ටම නිදහස් විය හැකිය. ජීවත්වීම සාරවත් එකක් සේ දකින තුරාවට ඉන් මිදී නිදහස් විය නොහැක. මේ පැවැත්මේ ජීවත්වීමේ යථාස්වභාවය වූ නිස්සාරත්වය දකගැනීමෙන්ම, යථාපරිදි අවබෝධ කර ගැනීමෙන්ම මේ පැවැත්මෙන් නිදහස් විය හැකිවෙයි.

මිනිසෙකු ලෙස උපතලත් මේ ආත්ම භාවයේදීත් පිංකම් පමණක්ම කරමින්, මතු සැපසම්පත් පතමින් යැදුම් යදිමින් කාලය යැවීම තව කල්ප කාලාන්තරයක් සංසාර දුකම උරුමවීමට පමණක් හේතුවෙයි. සියලුම ආගම්වල උත්සාහය හොඳ නිවැරදි, යහපත් මිනිසුන් සමූහයක් සමාජයට බිහිකිරීමයි. අප එය අගය කල යුතුය. පරම පවිත්‍ර බුද්ධ ධර්මය ලෝකයාට ඉදිරිපත් කලේ අනන්ත දුක් කන්දරාවක් විඳිමින් පරක් තෙරක් නොපෙනෙන සංසාර සාගරයේ අතරමං වී මුංමුලා වී ගමන් කරන පෘථග්ජන ලෝකයාට සඳහටම දුකෙන් මිදෙන්නට නිවැරදි මඟ පෙන්වා දෙනු සඳහාය.

මෙම පොත් මුද්‍රණය කිරීමේදී අතහිත දුන් හැම කෙනෙකුටම හා පරිගණක කටයුතු සිදුකර මුද්‍රණය කරදුන් මෙවන්සා ග්‍රැෆික්ස් ඇන්ඩ් ප්‍රින්ටර්ස් අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලයටත්, මේ උදාර පුණ්‍ය කර්මය නිවන් පිණිසම හේතු වේවා.

2018.04.12

මීවනපලානේ සිරි ධම්මාලංකාර හිමි

## පූජ්‍ය මීවනපලානේ සිරි ධම්මාලංකාර හිමිගේ වෙනත් කෘතීන්

- නිවන් අවබෝධ කරගැනීමට උපකාර වන්නේ පරම පවිත්‍ර සිරි සද්ධර්මයයි
  පියවර 1 - 28 දක්වා

- අප උපන් මේ හෙළබිම බුදුන් උපන් ජන්බුද්වීපයයි
  පළමු කොටස

- අප උපන් මේ හෙළබිම බුදුන් උපන් ජන්බුද්වීපයයි
  දෙවන කොටස

- නිවන් අවබෝධ කර ගැනීමට උපකාර වන පරම පවිත්‍ර සිරි සද්ධර්මය

- විමුක්ති මාර්ගය පෙන්වා වදාල උතුම් බුද්ධ ධර්මය භක්තියෙන් අදහන බුද්ධාගමක් කරා පරිවර්තනය වූයේ කෙසේද?

- සම්මත සත්‍ය හා පරමාර්ථ සත්‍ය හෙවත් දැනුම හා දැක්ම.

- බුද්ධ බල - බුද්ධ ශක්ති බුද්ධ ඥාණ විග්‍රහය.

- මහා සතර සතිපට්ඨාන භාවනාව.

පටුන පිටුව

# 1. මාගධී සබ්ධ සංඥා හා බුද්ධ ධර්මය

ලොව්තුරා බුද්ධත්වයට පත්වන සියලුම බුදුවරුන් උතුම් බුද්ධ ධර්මය දේශනා කරන්නට භාවිතා කරන්නේ "මාගධී" සබ්ධ සංඥාවන්ය. එදා බුදු දහම දේශනා කළ, කටවචනයෙන් වනපොත් කරගෙන පරම්පරාවෙන් පරම්පරාවට පවත්වාගෙන ආ, මෙම ශබ්ද සංඥා සහිත වූ මාගධී භාෂාවට අකුරු තිබුනේ නැත. ශබ්ද සංඥා පමණක්ම ඇත. මෙම ශබ්ද සංඥාවන් භාවිතා කිරීමේදී ද පිළිපැදිය යුතු ව්‍යාකරණ නීතිරීති පද්ධතියක් "ශබ්ද නීති ප්‍රකරණය" නමින් එදා භාවිතයේ පැවතුනි.

භාවිතයේ පවතින ජීව භාෂාවක සම්මත කරගත් ව්‍යාකරණ නීති රීති වලට අනුව, බුද්ධ භාෂිතයේ එන ශබ්ද සංඥා (මාගධී පදවැල්) වෙනත් භාෂාවකට පරිවර්තනය කරන්නට යමෙක් උත්සාහ දැරුවොත්, එතැනදී නියත වශයෙන්ම ඒ පුද්ගලයා අතින් ධර්මය විකෘති වන ආකාරයේ වරදක් ද සිදුවෙනු ඇත. ඒ නිසා ලිඛිත භාෂාවක සම්මතයෙන් භාවිතයේ පවතින භාෂා නීති රීති වලට අනුකූලව බුද්ධ භාෂිතයේ එන මාගධී පදවැල් පරිවර්තනය නොකළ යුතු බව බුද්ධ භාෂිතය භාවිතා කරන අය විසින් තේරුම් ගත යුතුය.

අධිගමයටම මගපෙන්වූ දේශනාවක්වූ මෙම ශබ්ද සංඥාවලට "මගඅධි" යන අර්ථයෙන් "මාගධී" යන ව්‍යවහාරය යෙදෙයි. සතර මග සතර පල අධිගමනය කළ යුතුය යන අර්ථයෙන් මෙම ශබ්ද සංඥා වලට "මාගධී" යන කෙටි යෙදුම භාවිතා වෙයි. බුද්ධභාෂිතයේ පෙන්වා වදාළ අවසාන හා ඒකායන පරමාර්ථය වන නිවන් මගපල ලබාගන්නටම උපකාර වනසේ "මාගධී ශබ්ද සංඥාවලින්" අර්ථ, ධර්ම, නිරුක්ති, පටිසම්භිදාඥානත්වය විග්‍රහ වනසේ එදා ධර්මය දේශනා කළසේක.

ගෞතම බුදුපියාණන් වහන්සේ බුදුවෙන්නට පෙරත් එදා සමාජයේ ජීවත්වූ බොහෝ මිනිසුන් භාවනා කරන්නටත්, ධ්‍යාන ලබාගන්නටත්, අභිඥා ලබාගන්නටත් පුරුදු වී සිටිය හ. එදා ඒ සියලු මිනිසුන් භාවනා කරන්නට භාවිතා කළේ භෞතිකවූත්, ලෞකිකවූත් අරමුණු හා නිමිති මුල් කරගෙනය. "කසින පිරියම් කිරීම" යන නමින් එදා නම් කළ භාවිතයේ පැවති මේ භාවනා ක්‍රම ලෞකික වූ ආපෝ, තේජෝ, වායෝ, පඨවි යන මහාභූත හෝ වර්ණ කසිනයන් නිමිති කරගෙන කළ භාවනා ක්‍රමයන්ය.

ගෞතම බුදුපියාණන් වහන්සේ බුද්ධත්වයට පත්වීමෙන් පසුව ලෝකයාට හඳුන්වාදුන්නේ අනුස්සති හා අනුපස්සනා භාවනා ක්‍රමයන්ය. මේ අනුපස්සනා හා අනුස්සති භාවනාවන්ට මුල්වූයේ ආධ්‍යාත්මික පාරිශුද්ධතාවය අරමුණු කරගැනීම මිස ලෞකික හෝ භෞතික නිමිති නොවේ. "පුබ්බේ අනනුස්සුතේසු ධම්මේසු" යන පදයෙන් අර්ථ ගැන්වූයේ පෙර භාවිතා නොකළ, පෙර අසා නොතිබූ අධ්‍යාත්මික සුවයක් සහනයක් ලබන අලුත්ම දහමකි, ක්‍රමවේදයකි යන තේරුමෙනි. පෙර භාවිතයේ පැවතුණු ක්‍රමයන්ම ඒ ආකාරයෙන්ම දිගටම භාවිතා කරන්නටම දේශනා කරන්නේ නම් එය බුද්ධ භාෂිතය විය නොහැකිය. එසේ අලුතින් සොයා දැන දැක දේශනා කරන ලද දහම ඒ වනවිටත් භාවිතයේ පැවති හා භාවිතයේ පවතින දහමක්ම වූයේ නම් එය පුබ්බේ අනනුස්සුතේසු දහමක් වන්නේ ද නොවේ. මෙයට පෙර නොඇසූ අර්ථ, ධර්ම, නිරුක්ති හා පටිසම්භිදා විග්‍රහයන් සහිතව ධර්මය දේශනා කිරීම මගින්ම එදා නිවන් මග විවෘත කරගත හැකි විය. අදටත් එය වලංගුය.

මෙලෙස පවතින පිළිගත් මතයට පටහැනිව ද, පිළිගත් සම්ප්‍රදායට නොගැලපෙන ලෙසින් ද, අදහන හා විශ්වාස කරන ආගමික මතයන්ට විරුද්ධව ද පරමාර්ථ ධර්මය දේශනා කරන හැම විටකම එක්තරා පිරිසක් පරමාර්ථ දහමට ද විරුද්ධවීම බලාපොරොත්තු විය යුතුය. පිළිගත් සම්මතයන් මතම තම ජීවන රටාව යැපුම් මාර්ගය පවත්වාගෙන යන පිරිසක් ද සමාජය තුළම ජීවත් වෙයි. ඔවුන් සම්මත විශ්වාසයන් දිගටම දැඩිව ආරක්ෂා කරගන්නටත් කළහැකි කළ යුතු සියලු දේම කරනු ඇත. නිවන් දකින්නටම උපකාර වන පරමාර්ථ දහමක් ලෞකිකත්වය තුළ අතරමං වූ එවන් පෘතග්ජන පිරිසකට නොගැලපෙන බව ද පිළිගත යුතු සත්‍යයකි. පිළිගත් සම්මතයන්ට මෙන්ම විශ්වාසයෙන් හා භක්තියෙන් අදහන ආගමික සංකල්පයන්ට පහර නොවදින ආකාරයට පරමාර්ථ දහමක් ඉදිරිපත් කිරීම ද කළ නොහැකිය. බ්‍රහ්මජාල සූත්‍රය දේශනා කර වදාළ ගෞතම බුදුපියාණන් වහන්සේ එදා පැවති පිළිගත් සියලු සම්මත ආගම් බැහැර කළහ. මේ අනුව අද සම්මතයෙන් හා විශ්වාසයෙන් බුද්ධාගම යැයි ආගමක් අදහන, උප්පැන්න සහතිකයේ පමණක් බෞද්ධ යැයි සඳහන්ව පවතින නායක කාරකාදීන් පිරිසට ලෝකෝත්තර නිවන් මග පෙන්වා දෙන විට ඊට ද ඔවුන් විරුද්ධ වීම සාධාරණය කළ හැකි දෙයකි. ඔවුන් කෙරෙහි ද අප අනුකම්පා කළ යුතුය. ථේරවාදීන් යැයි කියාගන්නා අපේ රටේ සම්මත බෞද්ධයින් වාගේම ලෝකයේ බුද්ධාගම්කාරයින් යැයි සම්මතයෙන් බුද්ධාගම අදහන සියලුම බෞද්ධ රටවල්වලත් අදටත්, තවමත් මිනිසුන් සිල් සමාදන් වන්නේත්, භාවනා කරන්නේත්, අනෙකුත් ආමිස පුද පූජා පවත්වන්නේත්, පිළිවෙත් පුරන්නේත් තථාගතයන් වහන්සේ දේශනා කර වදාළ දෙයක්ම තමන් කරනවාය යන වැරදි මතයේ එල්බගෙනමය. ලෝකයෙන් (දුකෙන්)

එතෙර වන්නටම එදා දේශනා කර වදාළ මේ උතුම් මාගධි පදවැල්ම අද ලෞකික අර්ථයෙන් ගෙන ලෝකයක් හදන්නටම උපකාර වනසේ භාවිතා කරන බව ඔවුන්ට පෙන්වා දුන්නත් ඒ පරම සත්‍යයන් පිළිගනනටත් ඒ අය අකමැතිය.

තථාගතයන් වහන්සේ ලෝකයාව දුකෙන් මුදවා නිදහස් කරගන්නටම එදා දේශනා කරන ලද පරමාර්ථ දහමෙහි එන මාගධී පදවැල් වලටම කල්යත්ම අටුවා, ටීකා, ටිප්පනි හා මත වාදයන් ලියා ඉදිරිපත් කරමින් ද, වෙනත් චංදස් වෛදික භාෂාවන්ට බුද්ධ භාෂිතය පද පරම ලෙසින් පරිවර්තනය කිරීමෙන් ද, දහම විකෘති වූ බවත්, නිවන් මග වැසී ගිය බවත්, දැන් පැහැදිලිය. ඒ සියලු වැරදි සිදු කළේත් බෞද්ධ යැයි කියා ගන්නා පිරිසක්මය.

ලෝකයක් හදන්නට, ලෝකයම දිගටම සම්මත පරිදි පවත්වාගෙන යන්නටම, බුදු පියාණන් දේශනා නොකළ දෙයක්, දේශනා කළ දෙයකැයි පණ පිහිටුවා වැරදි ලෙසින් ලෝකයාට කියන්නට තරම් අඥාන වූ පිරිසක් පසුගිය කාලවකවානුව තුළ ධර්මය අධර්මය කළහ. යම් උත්තමයෙක් නිවැරදි, නිර්මල නිවන් මග පෙන්වාදී "පුබ්බේ අනනුස්සුතේසු ධම්මේසු" යන අයුරෙන් ධර්මය දේශනා කළත්, නිවන් මග විවෘත කළත්, පොතේ තියෙන්නේ ඔය විදියට නෙමෙයි. අටුවාවේ තියෙන්නේ ඔය විධියට නෙමෙයි, පිළිගත් මහා ශ්‍රමණයින් කියල තියෙන්නේ ඔය විධියට නෙවෙයි ආදී වශයෙන් යළි යළිත් නිවන් මග ආවරණය කරගන්නටම ඔවුන් උත්සාහ දරනු ඇත. ඔවුන් ද බෞද්ධ නාමයෙන්ම පෙනී සිටිති.

''ඔය අලුතෙන් කියන දේ නෙමෙයි හරි, අපි ඉගෙන ගත්ත දේයි හරි, අපිට ඕව පිලිගන්න බැහැ, අර අටුවාවේ තියෙන්නේ ඔය විදියට නෙමෙයි, අර නායක හාමුදුරුවො ලියපු පොත්වල තියෙන්නෙ ඔය විදියට නෙමෙයි, ඔය දහම විකෘති කිරීමක් කරන්නේ'' මේ අයුරින් තර්ක විතර්ක කර තම මතයම ජය ගන්නට උත්සාහ දරනු ඇත.

මේ අනුව ධර්මය අධර්මය කරගෙන අධර්මයක් ධර්මය යැයි පෙන්වා දෙමින් තමනුත් නොමග යමින් ලෝකයාවත් නොමග යැවූ පිරිසක් කාලයක් තිස්සේම බෞද්ධ යැයි කියා ගනිමින් දේව ආගම්වලට ආවැඩූ බව දැන් පැහැදිලිවම පෙන්වා දිය හැකිය.

හුස්ම රැල්ලට හිත තබාගෙන ආශ්වාස ප්‍රශ්වාස කිරීම මගින් ආනපාන සති සමාධිය වැඩෙනවා යැයි කියා අද වනවිට මුළු රටේම ජනතාව නොමග යැවූ වැරදි පිළිවෙතක් භාවනා මධ්‍යස්ථාන යැයි කියා ගන්නා හැම තැනකම අද භාවිතා කරමින් පවතී. බුදු පියාණන් වහන්සේ එදා නිර්දේශ කර දේශනා කර වදාළ නිවැරදි නිවන් මග අනුගමනය කරන කෙනෙකුට හුස්ම ඉහළට පහළට ගැනීම මෙනෙහි කිරීම මගින් පමණක්ම මග පල ලැබිය නොහැකි බව දැන් ඔප්පු වී හමාරය. හුස්ම රැල්ල දෙස බලාගෙන ඒ අනුව "වායෝ කසින පිරියම්" කිරීමේ භාවනා ක්‍රමයක් එදා බුදු පියාණන් වහන්සේ බුද්ධත්වයට පත්වන්නට පෙරත් භාවිතයේ පැවති බව ගෝපක මොග්ගල්ලාන සූත්‍රයේත්, අරිට්ඨ සූත්‍රයේත් පැහැදිලිවම පෙන්වා දී ඇත. එවැනි කසින පිරියම් කිරීමෙන් ද ධ්‍යාන ලබාගත හැකි බවත් එවැනි අනාර්ය ධ්‍යානයන් නිවන් මග ඵල ලබාගන්නට බලවත්ම බාධකයන් වන බවත්, ඒ ධ්‍යානයන් අනාර්ය අරූපී ධ්‍යානයන් ලෙසත් බුදු පියාණන් වහන්සේ පැහැදිලිවම

පෙන්වා දී ඇත. අස්ස පස්ස - අස්ස සති පස්ස සති - යන වචන යුගලය පසුකාලීන අටුවා කාරයින් මෙන්ම පරිවර්තකයින් ද වැරදි අර්ථයක් ඇතිව ආශ්වාස ප්‍රාශ්වාස යන සංස්කෘත වචන දෙකකට පරිවර්තනය කිරීමේ ප්‍රතිඵලය නිවන් මග වැසී යටපත් වී යාමයි. සබ්බපාපස්ස - කුසල අස්ස යන පාඨයන්හි මෙහි අර්ථය පැහැදිලිව පෙන්වා දී ඇත. පාප පස්ස කළ යුතුය. කුණු සලා හැරීම ආශ්‍රය කළ යුතුය. මේ වරද නිවැරදි කර භාවිතයට ගන්නට දැන් කාලය පැමිණ ඇත. තරහක් සිතට ආ විට එය පාපී සිතුවිල්ලකි. එය සිතින් ප්‍රහාණය කර ඒ වෙනුවට මෛත්‍රිය අස්ස කළ යුතුය. එය අස්ස - පස්ස කිරීමයි. රාගී සිතිවිල්ලක් සිතට ආ විට අසුභානුස්සතිය වඩා රාගය ප්‍රහාණය කිරීම පස්ස කිරීමයි. එහි නොඇලීම (නෙක්කම්ම) ආශ්‍රය කළ යුතුය. ද්වේශය හෝ රාගය සිතක යළි යළිත් උපදින්නේ ඒ ගතිත් නිච්ච වූ නිසාය. අනිච්ච, දුක්ඛ, අනත්ත අනුපස්සනා කළ යුත්තේ සිතේ මුල් බැසගත් "නිච්ච, සුඛ, අත්ත" ප්‍රහාණය කරන්නටය. පස්ස කිරීම යනු එයයි.

අනිච්චානු පස්සී විහරති - නිච්ච සංඥා පජහති
දුක්ඛානු පස්සී විහරති - සුඛ සංඥා පජහති
අනත්තානු පස්සී විහරති - අත්ත සංඥා පජහති
මේ ආනාපාන සති සමාධි භාවනා කිරීමයි.

මාගධී බුද්ධ භාෂිතයේ එන පදයක් මෙලෙස වැරදියට පරිවර්තනය කිරීමේ ශාපය නිවන් මග වැසීයාම බව සියලු බෞද්ධයින් තේරුම් ගත යුතුය. මේ පදයෙහි නිවැරදි අර්ථයත් එය නිවැරදිව භාවිතයට ගත යුතු ආකාරයත් තේරුම් ගන්නා තාක් කල් නිවන් මග විවෘත වන්නේත් නැත. බෞද්ධයෙකු වන්නේත් නැත. නික්ලේසී පුද්ගලයෙකු වන්නේත් නැත.

## 2. ප්‍රඥාව හා ඥානය

විඥානය, ඥානය හා ප්‍රඥාව යනු එකක්ම නොවේ. ඥානයේ අවස්ථාවන් තුනකි. අවිද්‍යාව, තණ්හාව හා ද්වේශය වැනි සිතෙහි උපදින කෙලෙස්ගති සිතක උපදින්නේම විඥානයෙන් සිත ක්‍රියා කරන අවස්ථාවන්හිදීය. අවිද්‍යාව, තණ්හාව හා ද්වේශය සිතෙන් ඉවත් කර සිත පිරිසිදු තත්ත්වයේම පවත්වාගෙන යන්නට උපකාර වන්නේම ප්‍රඥාවයි. ප්‍රඥා ඉන්ද්‍රියය ක්‍රියාත්මක වන අවස්ථාවක ප්‍රඥාව බලධර්මයක් ලෙසින් ක්‍රියාත්මක වී සිත කිලුටුවන්නට ඉඩ අවසර නොදී සිතේ ආධ්‍යාත්මික පාරිශුද්ධත්වය ද පවත්වා ගනී. ප්‍රඥා ඉන්ද්‍රියය ක්‍රියාත්මක වන සිතක ඒ අවස්ථාවේ සිතෙහි විඥානය ක්‍රියාත්මක නොවේ. සත්තිස් බෝධි පාක්ෂික ධර්මයන් අතර ඉතාමත්ම වැදගත් ඉන්ද්‍රිය ධර්මය වන්නේත් ප්‍රඥා ඉන්ද්‍රියයයි. රාග බව, ද්වේශ බව, මෝහ බව සිතෙන් සහමුලින්ම උදුරා දමන්නට උපකාරක ධර්මතාවය ක්‍රියාත්මක වන්නේ ප්‍රඥා ඉන්ද්‍රියය බලගැන්වුණු අවස්ථාවකදීමය. කිළිටිව පවතින සිතක් පිරිසිදු කරගන්නට සද්ධා, විරිය, සති, සමාධි ඉන්ද්‍රියයන් හතරම උපකාරක වන අතර ඒ පිරිසිදු බව දිගින් දිගටම පිරිසිදු ලෙසින්ම පවත්වාගෙන යන්නට උපකාර වන්නේ ප්‍රඥා ඉන්ද්‍රිය හා ප්‍රඥා බලයන්ය.

ඥානය යනු ලෞකික හා භෞතික වශයෙන් ලෝකය පිළිබඳව ලබන දැනුම් සම්භාරයයි. ප්‍රඥාව යනු ලෝකයෙන් එතෙර වීම යන තේරුමෙන් අධ්‍යාත්මිකවූත්, ලෝකෝත්තරවූත්, දැනුම් සම්භාරයකි. රාග බව, රාග මූල, ද්වේශ බව, ද්වේශ මූල, මෝහ බව, මෝහ මූල සහමුලින්ම උදුරා දමන්නට උපකාර වන බොජ්ජංග ධර්මයන් හතම සම්පූර්ණ වන්නේ ප්‍රඥා ඉන්ද්‍රිය හා ප්‍රඥා බලය ක්‍රියාත්මක වීමෙනි.

සීලපරිභාවිතා, සමාධිපරිභාවිතා පූරණය වී යථාභූත ඥාන දර්ශනය ලැබෙන්නේ ප්‍රඥා ඉන්ද්‍රියය බලගැන්වීමෙනි. ප්‍රඥාව මුල් කරගෙන සීල, සමාධි, භාවනා යථා පරිදි භාවිතයට ගත් විටෙක මගඵල පූරණය වන්නට උපකාරක අඤ්ඤතාවීන්ද්‍රියය බලගැන්වෙයි.

ජීවිත පැවැත්ම දිගටම පවත්වාගෙන යන්නට, මතු පැවැත්ම සහතික කරගන්නට, කර්මබීජ නිපදවා ගන්නට විඥානය උපකාර වන අතර ඥානය ලෝකය හොඳින් පවත්වාගෙන යන්නට කාම ලෝකවල සුගති ලෝකවල උත්පත්තියක් ලබන්නට උපකාරක කර්මබීජ නිපදවයි. ලෝකයක් නිර්මාණය කරගන්නට මෙන්ම ලෝකය විනාශ කරන්නට ද යම් යම් දේ ක්‍රියාත්මක කරන්නේ ද ඥානයෙන් ක්‍රියා කරන අයයි. පරමාණු බෝම්බය නිර්මාණය කළේ ඥානයෙන් ක්‍රියා කළ නමුත් ප්‍රඥාවෙන් ක්‍රියා නොකළ කෙනෙකි. නමුත් ප්‍රඥාව මතුකර ප්‍රඥා ඉන්ද්‍රිය බලගන්වන්නටත් ඥානයම උපකාර කරගත යුතු බව ද තේරුම් ගත යුතුය. ඥානය තුළ ඥානවන්තයෙකු තුළ අස්මිමානය තවදුරටත් ක්‍රියාත්මක වෙයි. නමුත් ප්‍රඥාවෙන් කටයුතු කරන අරිය ශ්‍රාවකයෙකු තුළ අස්මිමානය ද ඉවත් වී උපේක්ඛා සිත ක්‍රියාත්මක වෙයි. සාමාන්‍ය ලෝකයා භාවිතා කරන උගත්කම, දැනුම, බුද්ධිමත්කම යනාදී සියලු ලෞකික ගුණාංගයන් ඥානය ලෙසින් පෙන්වා දිය හැකිය. නමුත් ප්‍රඥාව පිරිසිදු දැක්මකි. (පස්සතෝ) එය අභිඥාතං අභිඤ්ඤෙය්‍යයිය යන තත්ත්වයට පත්වූ පසක් කොට දැකගත් සිතකි. පරම සත්‍යය, යථාභූත ඥානය දැකගන්නේ ප්‍රඥාවෙන්මය. පරමාර්ථ වශයෙන් ලෝකය යනු අඳුරක්, මායාවක් විපරිනාමය වන දෙයක් බව යථා පරිදි දැක ගන්නේ ප්‍රඥාවෙනි.

තණ්හාව, ආශ්වාදය විඳීමේ ආශාව හා දැඩි කැමැත්ත නිසා සළායතනයන්ට අරමුණු ලෙසින් අරමුණු වන දේවල් හා ඒ අවස්ථාවල ඇති සැටිය. යථා ස්වභාවය යථාවාදී තථාකාරී බව ඥානයෙන් හෝ විඥානයෙන් හෝ දැකගත නොහැකිය. හිතට වහල් වීම හැඟීමට වහල් වීම යනු මේ තත්ත්වයයි. පටිකුල මනසිකාරය බෙදා බැලීම - ධාතු මනසිකාරය හා නවසීවතික මනසිකාරය අනුව යම් පුද්ගලයෙකු, සත්ත්වයෙකු හෝ ද්‍රව්‍යයක්, වස්තුවක් බෙදා බලන්නට, දකින්නට පුරුදු වීම මගින් ඥානයෙන් එහා ගිය ප්‍රඥාවෙන් යථාභූත ඥාන දර්ශනය ලැබිය හැකිවෙයි. සියලු පෘතග්ජන පුද්ගලයින් ප්‍රිය මනාප සියලු දේ නිච්චසේ, සුබසේ, සුවසේ අස්මිමානයෙන් උපාදානය කරගනී. එය විඥානයෙන් ක්‍රියාත්මක වන සිතක සිදුවන්නකි. එහි යථා ස්වභාවය වූ නිච්ච නොවන බව, දුකටම මුල්වන බව, විපරිනාමයටම පත්වන බව යථා පරිදි දැකගත් පුද්ගලයා එය උපාදානය කර නොගනී. එවිට ප්‍රඥාවෙන් කටයුතු කරන්නෙකු බවට ද පත්වෙයි. විඥානයෙන් හිතට වහල් වී කටයුතු කිරීමේ නියත ප්‍රතිඵලය අවසානයේ දුකම උරුම වීමයි. ඡන්දරාග විනයෙහි පිහිටා ඡන්දරාගය ප්‍රහාණය කරන පුද්ගලයා ප්‍රඥාවෙන් කටයුතු කර ඒ ආස්වාදයෙහි නොබැඳෙයි. ඉන් මිදෙයි. නිදහස් වෙයි.

# 3. හෙළ අටුවා හා පාලි පරිවර්තන

කුමන්ත්‍රණයකින් මහා විහාරයේ ගබඩා කර තිබූ පොත් ගබඩාව ගිනි තබා විනාශ කර දමන්නට පෙර මේ සිවුහෙලයේ බොහෝ ස්ථානවලදී ලියා තිබූ පුස්කොල පොත් විශාල සංඛ්‍යාවක් මහා විහාර පුස්තකාලයේ තිබුණි. මේ පොත් අතර මූලිකම කොටස වූයේ හෙළ අටුවා යන නාමයෙන් සඳහන් කළ පොත් පත්ය. මේ හෙළ අටුවා පොත් එකකුදු අද අපට කියවා ගන්නට, දැක ගන්නට නැති උනත් බොහෝ පොත්පත්වල මේ අටුවා පොත් එකල භාවිතයේ පැවති බවට පිළිගත් සාක්ෂි ඇත.

මේ හෙළ අකුරෙන් ලියූ හෙළ අටුවා පොත්වල ලේඛනයක් මෙසේ ලියා තැබීම යහපත් බව පෙනේ.

1. මහා අට්ඨ කථා
2. මූල අට්ඨ කථා
3. මහා පච්චරිය අට්ඨ කථා
4. කුරුන්දි අට්ඨ කථා
5. අන්‍ධකට්ඨ කථා
6. සංඛේපකට්ඨ කථා
7. සීහලට්ඨ කථා
8. හෙළ අට්ඨ කථා
9. පොරාන අට්ඨ කථා
10. පොරාන ආචරිය අට්ඨ කථා
11. භාණක අට්ඨ කථා
12. විනය අට්ඨ කථා
13. සුත්තාන්ත අට්ඨ කථා
14. දීඝ අට්ඨ කථා (දීඝ නිකායට ලියූ අටුවා කථා)
15. මජ්ඣිමාට්ඨ කථා
16. සංයුක්තකට්ඨ කථා
17. අංගුත්තරාට්ඨ කථා
18. අභිධම්ම අට්ඨ කථා

පුස්කොළ පොත්වල සිංහල අකුරු වලින් ලියූ මෙවන් අටුවා කථා රාශියක් ලේඛන ලෙසින් මහා විහාර පුස්තකාලය ගිනිබත් කරන අවස්ථාවේ එහි පැවති බව පෙනේ. මේ කිසිදු අට්ඨ කථාවක් අද අපට කියවා දැකබලා ගන්නට නැති නමුත් මෙවන් ධර්ම ග්‍රන්ථ රාශියක් පරිශීලනය කරන්නට එදා බෞද්ධයාට අවස්ථාව තිබූ බව ද පැහැදිලිය. මහා වංශයෙහිම පාලි පරිවර්තනයෙහි මෙවන් පොත් රාශියක් මහා විහාර පුස්තකාලයෙහි තිබූ බවත් ඒවා සියල්ලම ගිනිබත් වූ බවත් සඳහන් කර ලියා ඇත.

වෛතුල්‍යවාදී අභයගිරිවාසීන් හා අභයගිරියට පක්ෂපාතී වූ මහසේන රජුත් අභයගිරියට පක්ෂපාතී වූ ගිහියන් පිරිසකුත් එදා මෙසේ මහා විහාරය ගිනිබත් කර, සියලු පොත්පත් පුළුස්සා දමා මහා විහාරය ද බිමට සමතලා කර මහා විහාරික භික්ෂූන් ද පළවා හැර දමන්නට එදා කටයුතු කළහ. මේ ක්‍රියාව ද්වේශසහගතවූත්, නිර්මල බුදු දහම යටපත් කර විනාශ කර දමා ඒ වෙනුවට ආගමක් මතු කරන්නටත් ගත් උත්සාහයක ප්‍රතිඵලය බවත් අද වන විට හෙළ බෞද්ධයින්ට තේරුම්ගත හැකි දෙයකි. මහා වංශය කියන පිරිසිදු කථාව තේරුම් ගන්නට හැම කෙනෙකුටම හැකියාවක් නැත. බුද්ධඝෝෂ සමඟ කටයුතු කළ අභයගිරියට පක්ෂපාතී ගිහි පැවිදි කොටස් දෙකේම අය එදා මේ පාප කර්මයට උරදුන්හ.

කෑගල්ලේ මාතුල ජනපදයේ අලුලෙනේ දී ත්‍රිපිටකය සිංහල අකුරෙන් සිංහල පන්හිඳෙන් සිංහල හාමුදුරුවරු ලේඛනගත කර තබන්නට පෙරත් මේ සියලු හෙළ අටුවා පොත්පත් මේ හෙළ බිම ගිහි පැවිදි උගතුන් අතර පරිශීලනය වූ බව පැහැදිලිවම තේරුම් ගත යුතු කරුණකි.

## 4. බුද්ධඝෝෂ හා සමකාලීනව ලියූ පාලි අටුවා පරිවර්තන

එදා මහාවිහාරයෙන් පිටමංකරගත් මූල අට්ඨකථාව උපයෝගී කරගෙන බුද්ධඝෝෂ ඇතුළු පරදේශික උගතුන් විසින් මේ හෙළ බිමේදීම සිංහල අකුරෙන්ම ලියූ පාලි පොත්පත් රාශියක් අදටත් අපට කියවන්නට ඉතිරි වී ඇත. මේ පොත් අතර බුද්ධඝෝෂ හිමියන් ලියූ පොත්පත් රාශියකි.

1. විශුද්ධි මාර්ගය
2. සමන්තපාසාදිකාව
3. ඛංකාවිතරණී
4. සුමංගලවිලාසිනී
5. පපංචසූදනී
6. සාරත්ථප්‍රකාශනී
7. මනෝරථපූරණී
8. පරමත්ථ ජෝතිකා
9. අත්ථසාලිනී
10. සම්මෝහ විනෝදනී යන පාලි අටුවා පොත් ද වෙයි.

මීට අමතරව මෙයට කිට්ටු කාලයක දී මේ රටේදීම ධම්මපාල නම් හිමි නමක් විසින් ද පාලි අටුවා පොත් ලියා ඇත. ධම්මපාල හිමියන් විසින් පහත සඳහන් අටුවා පොත් ලියා ඇත.

1. පරමත්ථදීපනී උදාන
2. පරමත්ථදීපනී ඉති උත්තක
3. පරමත්ථදීපනී ථෙර ගාථා
4. පරමත්ථදීපනී ථෙරි ගාථා
5. පරමත්තදීපනී චරියාපිටක

මීට අමතරව බුද්ධදත්ත, උපසේන, ධර්මසේන ආදී පරදේශික ලේඛකයින් විසින් ලියූ පාලි අටුවා පොත්

කිහිපයක් ද අදටත් කියවා බලාගන්නට ඉතිරිව ඇත. ඒවා නම්

1. ධම්මපදට්ඨ අත්ථ කථා
2. ජාතකට්ඨ කථා
3. සද්ධම්ම පජ්ජෝතිකා
4. සද්ධම්මප්පකාශිනී
5. මධුරත්ථ විලාසිනි
6. විශුද්ධජන විලාසිනි ආදී වශයෙනි.

මේ සියලුම පොත්පත් ආරක්ෂා වී පැවතියේ එදා පැවැති අභයගිරි විහාරයේය. ඒ මහාසාංඝික නිකායට අයත් විහාරයකි. මේ සියලු අටුවා පොත් නිර්මල බුදු දහම අනුසාරයෙන් ඒවාම පරිවර්තනය කරන මුවාවෙන් මහාසාංඝික නිකායේ අරමුණු හා පරමාර්ථවලට ගැලපෙන සේ ඒ ඒ අටුවාචාරීන් විසින් පසුකාලයක දී රචනා කළ පොත්පත්ය. ඒවායේ නිවන් දකින්නට උපකාර වන පිරිසිදු නිවන් මගක් පෙන්වා දෙනවාය කියන නමුත් බුද්ධාගමට අදාළව ප්‍රාර්ථනා හා යාඥා ඇදහිලි උළුප්පා පෙන්වූ පාලි අටුවා පොත්පත්ය. ඒවායින් මිනිසුන්ගේ මනස දෙව්සැප, බ්‍රහ්ම සැප, රජ සැප, සිටු සැප ප්‍රාර්ථනා කිරීම කරා යොමු කරවන ස්වරූපයක් පෙන්නුම් කෙරෙයි.

## 5. බෞද්ධ ඉතිහාසය

අද අපට කියවන්නට හා දකින්නට ලැබෙන පාලි අට්ඨ කථා අනුසාරයෙන් පමණක් බුද්ධ ශාසනය පිළිබඳව හෝ බෞද්ධ ඉතිහාසය පිළිබඳව හෝ නිවැරදිවූත් පිරිසිදුවූත් අදහසක් හා දැනුමක් ලබාගන්නට හැකි යැයි යමෙක් නිගමනය කරන්නේ නම් එය වැරදි සහගත තීරණයකි. ඊට හේතුව අපට අද කියවන්නට ලැබෙන පාලියෙන් ලියූ (1) විශුද්ධි මාර්ගය (2) සමන්තපාසදිකාව (3) කංකාවිතරණී (4) සුමංගලවිලාසිනි (5) පපංචසුදනි (6) සාරත්‍ථ ප්‍රකාශනී (7)මනෝරථපූරණී (8) පරමත්ථදීපනී (9) සංමෝහ විනෝදනී ආදී පාලි අටුවා පොත් සියල්ලක්ම ලියා ඇත්තේ බුදු පියාණන් පිරිනිවී වදාරා වසර 915 කට පමණ පසුව කාලවකවානුවකදී වීමත් ඒවා ලියූ පෘතග්ජන හුදී ජනයා දේව ආගම් සංකල්ප වලින් ඔද්දල් වූ දෘෂ්ඨිගත පුද්ගලයින් වීමත් නිසාය. බුද්ධඝෝෂ හිමියන්, ධම්මපාල හිමියන්, උපසේන හිමියන්, බුද්ධදත්ත හිමියන් මෙන්ම මහානාම හිමියන් ද අභයගිරියට සම්බන්ධවූත් පක්ෂපාතී වූත් මහා සංඝික නිකායේ අදහස් වලින් පෝෂණය වූත් අය බව පැහැදිලිවම පෙනෙන කරුණකි.

මේ සියලු පාලි අට්ඨ කථා ලියූ හිමිවරුන් දකුණු හෝ මධ්‍යම ඉන්දියාවෙන් මේ රටට පැමිණි අය බව පෙනේ. බුද්ධ වර්ෂ 900-950 අතර කාල පරාසයක් තුළදී පැමිණි මේ සියල්ලන්ම මහායාන බුද්ධාගමට අයත් පුද්ගලයන් වූහ. මහායාන ආගමට අනුව මිනිසෙකුව උපත ලත් යම් කෙනෙකුට ලොව්තුරා බුද්ධත්වයට පත් වීමෙන් විනා අරහත් බුද්ධත්වයට හෝ පච්චේක බුද්ධත්වයට පත්වීමෙන් හෝ නිවන් දැකගත නොහැකිය. ඒ අනුව ගෞතම බුදු පියාණන්ගේ පිරිනිවීමෙන් පසුව මතු බුදුවන මෛත්‍රී බුදුන්

බුදුවන තෙක්ම මිනිසෙකුට නිවන් මග පල ලබාගැනීමේ හැකියාවක් නැත යන්න ඔවුන්ගේ මතයයි. ලොව්තුරා බුද්ධත්වය නමැති එකම යානයකින් පමණක් කෙනෙකුට නිවන් මගඵල ලබාගත හැකිය යන්න මහායානික දර්ශනයේ මූලිකම පිළිගැනීමයි. ඒ අනුව මතු ලොව්තුරා බුද්ධත්වයට පත්වීමේ ඒකායන ප්‍රාර්ථනාවෙන්, පාරමිතා පුරමින්, දෙව් මිනිස් සැප සම්පත් විඳිමින් කාලය ගත කිරීම හැර අද අදම සසර දුකෙන් මිදී නිදහස් වීමේ ක්‍රමයක්, පිළිවෙතක්, මාර්ගයක් මහායානික බුද්ධාගමේ නැත.

## 6. පරියාප්ති සාසනය හා පාලි අටුවා

අද අපි භාවිතා කරන පාලි අටුවා පොත්පත් වලින් බහුතරයක්ම බුද්ධඝෝෂ හිමියන් ලියූ පාලි අටුවා පොත් පත් වන අතර විශුද්ධි මාර්ගය ඒ අතරින් ද වඩාත්ම වැදගත්ම කෘතිය ලෙසින්, සම්මත සම්ප්‍රදායික බෞද්ධ ගිහි පැවිදි උගතුන් කවුරුත් වාගේ පිළිගනී. ඒ උගත්කමයි. දැක්මක් එහි නැත. දැනීම ජානතෝ පමණි. බුරුම රටේ බෞද්ධයින් මෙන්ම බුරුම රටේ ආභාෂය ලැබූ සමහරක් ලාංකික බුද්ධාගම්කාරයින් ද විශුද්ධි මාර්ගය හා වෙනත් පාලි අටුවා පොත්පත් පරියාප්ති සාසනයේ කොටසක් ලෙසින් අද වනවිට පිළිගෙන ඇත. මේවා කටපාඩම් කරගැනීම කරති.

නමුත් නිර්මල බුද්ධ භාෂිතයට අනුව නම් නිවන් මග විවෘත කර පෙන්වා වදාළ පරියාප්ති සාසනයට අයත් වන්නේ අද අපි දන්නා ත්‍රිපිටක පොත් වලින් ද දීඝ නිකාය, මජ්ඣිම නිකාය, අංගුත්තර නිකාය හා සංයුක්ත නිකායත්, එදා බුදු පියාණන් වහන්සේගේ අනුදැනුම මත මහා ප්‍රාඥයින් වහන්සේලා විසින් ලියා පවත්වාගෙන ආ හෙළ අටුවා පොත්පත් කිහිපයත් පමණි. කුද්දක නිකායට අයත් වන පොත්පත් මෙන්ම පසුකලෙක පරිවර්තනයන් ලෙසින් ලියූ පාලි අටුවා පොත්පත් හෝ වෙනත් අටුවා, ටීකා, ටිප්පනි හෝ වෙනත් ආචාරිය මත ලෙසින් ගෙනහැර දැක්වූ පසුකාලීනව ලියූ පොත්පත් හෝ මුල් බුදුසමය තුළ පරියාප්ති සාසනය ලෙසින් කිසිවිටෙකත් පිළිගත්තේම නැත. ඒ සියල්ලම මහායානික බුද්ධාගමට හෝ බෝසත් පෙරුම් පුරමින් මතු බුදු බව පතන්නට හෝ දෙව් මිනිස් සැප පතන්නට හෝ අදාළ දේවල් මිස ඒවා පරියාප්ති සාසනය ලෙසින් පිළිගත්තේම නැත. අද නැවතත් නිර්මල බුදුදහම මතු කර පෙන්වා දී ඇති නිසාත්, නිවන් මගට උපකාරක

ධර්මයන් ලෙසින් ගෞතම බුදු පියාණන් වහන්සේම දේශනා කළ පරියාප්ති සාසනය නැවතත් දේශනා කරන්නට අවස්ථාව ලැබී ඇති නිසාත් පරියාප්ති සාසනය නිවැරදිව තේරුම් කර ගත යුතුය. ඒ අනුව සබ්බධම්ම මූල පරියාය, ධම්ම පරියාය, සබ්බ ආසව සංවර පරියාය, නිබ්බේදික පරියාය හා ධම්ම අනුධම්ම පරියාය යන පංච පරියායන්ට අදාළ වන සූත්‍ර ධර්මයන් සහ ඒවා භාවිතයට ගැනීම මෙන්ම පිරිය යුතු ප්‍රතිපත්ති සාසනයත්, ඒ අනුව ලබාගත යුතු මගඵල පූරණය වන ප්‍රතිවේධ සාසනයත් යන ත්‍රිවිධාකාර වූ සාසනයම පූර්ණ වන්නේ නම් පමණක් එය විමුක්ති මාර්ගය පූරණය වීමයි. විපස්සනා ධූරය සම්පූර්ණ කරගන්නට උපකාර නොවන ලෙසින් මගඵල ලබාගන්නට උපකාර නොවන ආකාරයට බොහෝ පොත්පත්වල ග්‍රන්ථ ධූරයම පමණක් පුරන්නන් විසින් පරියාප්ති සාසනය ලෙසින් සලකා ඒවා කටපාඩම් කිරීම හෝ ගායනා කිරීම හෝ සජ්ඣායනා කිරීම හෝ පමණක් ප්‍රතිපත්ති සාසනය හෝ ප්‍රතිවේධ සාසනය පූර්ණ වන ප්‍රායෝගික මාර්ගය නොවන බව තේරුම්ගත යුතුය. ඒ අනුව මහායාන බුද්ධාගමේ හෝ ථේරවාදී බුද්ධාගම යැයි අප අද සම්මතයෙන් සම්ප්‍රදායිකව අදහන බුද්ධාගමේ හෝ ග්‍රන්ථ ධූරය පිරීමක් සිදුවෙනවා මිස විපස්සනා අනුපස්සනාධූරය පිරීමක් කිසිසේත්ම ප්‍රායෝගිකව සිදු නොවන්නේ පරියාප්ති සාසනය නිවැරදිව දැන හඳුනාගන්නට බෞද්ධයාට කියාදීමක් නැති හේතුව නිසාමය. අද වනවිට හෙළ දිවයිනේ විවිධ උසස් අධ්‍යාපන ආයතනවල, බෞද්ධ පාලි විශ්වවිද්‍යාලයේ, බුද්ධ ශ්‍රාවක ධර්ම පීඨයේ හෝ වෙනත් මහ පිරිවෙන්වල හෝ උගන්වන හා ඉගෙන ගන්නා විෂයයන් වන බුද්ධධර්මය, බෞද්ධ සංස්කෘතිය, බෞද්ධ දර්ශනය, බෞද්ධ ඉතිහාසය හෝ ඊට අදාළ වෙනත් විෂයයන් සියල්ලම ඉගෙන ගෙන ග්‍රන්ථධූරය පූරණය

කරගෙන උපාධි හෝ පණ්ඩිත විභාග පාස්කර ලෝකයක් හදන්නට උපකාර වන ආකාරයේ දේවල් කරනවා මිස විපස්සනා ධූරය සම්පූර්ණ කරගෙන විමුක්ති ඥානදර්ශනය ලබාගන්නට කිසිම අයුරකින් උපකාර නොවන දේවල් නිසා ඒවා පරියාප්ති සාසනය වන්නේ ද නැත.

අද වනවිට පරියාප්ති සාසනයේ දක්වන අනිවාර්ය අංගයන් වන (1) තං සුනාථ (2) සාදුකං මනසි කරෝත (3) භාසිස්සාමිති යන අංග තුන අතුරෙන් "භාසිස්සාමිති" යන්න එනම් භාවිතයට ගැනීම-අභ්‍යාස කිරීම ප්‍රායෝගිකව සිදු නොවන නිසා ප්‍රතිපත්ති සාසනය හො ප්‍රතිවේධ සාසනය පූර්ණ වන්නේම නැත. මේ ත්‍රිවිධ සාසනයම නිවැරදිවත් ප්‍රයෝගිකවත් යුගනද්ධවත් අනුගමනය කරන්නට භාවිතයට ගන්නට නොදත් කළෙක මාර්ගඵල සම්පූර්ණ වන්නේ ද නැත. බුදු දහම උපකාර කරගත යුතු වන්නේ විමුක්ති ඥාන දර්ශනය ලබාගන්නට මිස ලෝකයක් හදන්නට නොවේ.

කිංති සූත්‍රයේ නිවැරදිවම පෙන්වා දී ඇත්තේ (1) යෝ ධම්මෝ (2) යෝ විනයෝ (3) සෝ භාසිතබ්බෝ යනුවෙනි. මේ නිසා නිවැරදි දහම යථා පරිදි දැනගැනීමත් ඒ දැනගත් නිවැරදි දහම ප්‍රායෝගිකවත්, නිවැරදිවත්, යුගනද්ධවත් භාවිතයට ගැනීම සිදු නොවන කාල වකවානුවක මගඵල ලැබීම සිදු නොවේ.

අද භාවේතබ්බංච භාවිතං පහාතබ්බංච පහීනං යන්න පවා තේරුම් ගෙන ඇත්තෙ වැරදි ආකාරයටය. ඒ අනුව නියම බුද්ධ ශ්‍රාවකයෙකු නම් මගඵල ලබන්නට නම් "අනුපස්සනා" හා "අනුස්සති" යන මාගධී පද වලින් බුද්ධ දේශනාවේ විග්‍රහ කළ දේ නිවැරදිවම තේරුම් ගත යුතුය. භාවිතයට ගත යුතුය.

## 7. අනුස්සති හා අනුපස්සනා

බුද්ධ භාෂිතයේ දැක්වෙන පරිදි අනුස්සති දහයකුත් අනුපස්සනා හතරකුත් දේශනා කර ඇති බව තේරුම් ගත යුතුය.

අනුස්සති වන්නේ
1. සීලානුස්සති 2. චාගානුස්සති 3. මෙත්තානුස්සති
4. අසුභානුස්සති 5. බුද්ධානුස්සති 6. මරණානුස්සති
7. ධම්මානුස්සති 8. සංඝානුස්සති 9. දේවතානුස්සති
10. ආනාපානාස්සති යි.

සතර අනුපස්සනා වන්නේ
1. කායේ කායානුපස්සනා
2. වේදනාසු වේදනානුපස්සනා
3. චිත්තේ චිත්තානුපස්සනා
4. ධම්මේසු ධම්මානු පස්සනා යන හතරයි.

සත්ත්වයාගේ පාරිශුද්ධතාවය සඳහාත් විමුක්ති මාර්ගය පූර්ණය කර ගැනීමටත්, මගඵල ලබා නිබ්බානගාමී මග පූර්ණය කරගන්නටත් කෙනෙකුට නියත වශයෙන්ම අනුපස්සනා හතරම පූරණය වන අයුරින් ආනාපානස්සති සමාධි භාවනාවම නිවැරදිවත්, ප්‍රායෝගිකවත්, යුගනද්ධවත් වැඩිය යුතු බව මහා සතරසති පට්ඨාන සූත්‍රයේ ඉතා පැහැදිලිව දේශනා කර වදාරා ඇත. එය ඒකායන මාර්ගයයි.

මේ අනුස්සති දහය අතරින් ද චතුරාරක්ඛා ලෙසින් පෙන්වා වදාළ මෙත්තානුස්සති, අසුභානුස්සති, මරණානුස්සති හා බුද්ධානුස්සති යන හතර ආනාපානසති සමාධි ලෙස වැඩීමෙන් සතර සති පට්ඨානය ඇතුළු සත්තිස් බෝධිපාක්ෂික ධර්මයන්ම පූරණය වී මගඵල ලැබෙන බව

පැහැදිලිවම බුද්ධ දේශනාවෙහි පෙන්වා දී ඇත. මේ අනුව "අනුස්සති", අනුපස්සනා, අනුයෝග වැනි මාගධී පදවල එන 'අනු' යන්නෙහි ධර්ම අර්ථය නිවැරදිවත්, ප්‍රායෝගිකවත් තේරුම් නොගත් කෙනෙකුට ආනාපාන සති සමාධිය පූරණය වන ආකාරයට අනුස්සති වඩා සතර සතිපට්ඨානය පූරණය කරගත නොහැකිය. 'අනු' යන මාගධී පදයෙහි ධර්ම අර්ථය මෙතෙක් නූපන් නමුත් වර්තමාන මොහොතේ අලුතින්ම සිතක උපදින්නට එන වේගයක්, වේදනාවක්, ආවේගයක් චිත්තාවේගයක් විඥාන ශක්තියක් එනම් ''අනුසය" ලෙසින් අලුතින්ම වර්තමාන මොහොතේ සිතේ කෙලෙස් උපත ලබන්නට එන අවස්ථාවයි. අනු-පස්සනා යනු ඒ (අනුශය) වේගය උපදින්නට ඉඩ නොදී අනුත්පාද වශයෙන්ම වර්තමාන මොහොතේදීම ප්‍රහාණය කර දැමීමයි. අනු-ස්සති වැඩීම යනු සතිසංපජානකාරීව අලුතින් සිතේ උපදින්නට එන වේගය-වේදනාව-වේමත්තතාවය අනතිවත්තන අර්ථයෙන් අනුත්පාද ලෙසින්ම අස්කර කපා දැමීමයි. මේ අනුව ප්‍රතිඵලය වන්නේ සංසාර රිය ගමන දිගටම, දිගින් දිගටම පවත්වාගෙන යන්නට මෙතාක් කල්ම උපකාරක ධර්මය වූ "අනුසය" අනුත්පාද වශයෙන්ම නිරෝධ කර "න අනුසේති" තත්ත්වයට සිත පිරිසිදු කරගැනීමයි.

## 8. බුද්ධඝෝෂ හිමියන් හා විශුද්ධි මාර්ගය

බුද්ධඝෝෂ හිමියන් විසින් පරිවර්තනය කර ලියූ පාලි අටුවා කථාවල, විශේෂයෙන්ම විශුද්ධි මාර්ගය නමැති අටුවා පොතේ බුදුදහමට නොගැලපෙන, ගෞතම බුදු පියාණන් අනාර්ය භාවනා හැටියට බැහැර කළ, "කසින පිරියම්" වැඩීම නිර්දේශ කර ඇත. මේ අනුව "සම සතලිස් භාවනා ක්‍රමයක්ම" විශුද්ධි මාර්ගයේ පැහැදිලිවම පෙන්වා දී ඇත. නමුත් බුද්ධ දේශනාවෙහි පැහැදිලිවත්, පිරිසිදුවත් කසින පිරියම් කිරීම හෝ කසින භාවනා කිරීම, අනාර්ය ධ්‍යානයන් ලැබීමට මිස කෙලෙස් මුල් උදුරා දමා පූර්ණ වශයෙන්ම ප්‍රඥා විමුක්තිය ලබන්නට උපකාර නොවන බව පෙන්වා දී දේශනා කර ඇත. (ගෝපක මොග්ගල්ලාන සූත්‍රය, අරිට්ඨ සූත්‍රය) බුද්ධඝෝෂ හිමියන් මෙසේ අනුස්සති දහයත් සමගම බුද්ධ ධර්මයට නොගැලපෙන කසින භාවනා ක්‍රම තිහකුත් යන දෙකොටස එකතු කරමින් සම සතලිස් භාවනා ක්‍රමයන් විශුද්ධි මාර්ගයෙහි සඳහන් කළේ සමථ-විපස්සනා යන දෙකම වශයෙනි. බුද්ධ ධර්මයෙහි සමථ-විපස්සනා දෙකම අනුස්සති දහය ඇතුළතම පෙන්වා දී ඇති බව බුද්ධඝෝෂ හිමියන් තේරුම්ගත්තේ, දැනසිටියේ නැත. මේ අනුව විසුද්ධි මාර්ගය නම් පාලි අටුවාව ලියන්නට උපකාර කරගත් හෙළබසින් ලියා තිබූ මහා අට්ඨ කතාවෙහි නොතිබුණු, නමුත් පතංජලී දර්ශනයෙහි උපනිෂද් දර්ශනයෙහි, වේද ආගමෙහි පෙන්වා දුන් බුදු දහමෙහි ප්‍රතික්ෂේප කළ කසින භාවනා ක්‍රම සියල්ල නිර්දේශ කර පනවා දෙන්නට බුද්ධඝෝෂ හිමි කටයුතු කළහ. නිවැරදිව බුදු දහම තේරුම් ගන්නට නොහැකි වූ නාමිකව පමණක් බෞද්ධ වූ මහායානික අදහස් අනුගමනය කළ පසුකාලීන ලාංකික බුද්ධාගම්කාරයන් ද විශුද්ධි මාර්ගයේ සඳහන් වන වායෝ කසින භාවනාව (ආශ්වාස-ප්‍රශ්වාස) භාවනාවක් හැටියට

භාවිතා කරන්නට විය. මෙය "ආනාපාන ප්‍රාණයාම" භාවනාව හැටියට බුද්ධ දේශනාවෙහි ද පෙන්වා දී ඇත. මේ අනුව දස අනුස්සති වැඩීම හා සතර අනුපස්සනා වැඩීම වෙනුවට හුස්ම රැල්ලට හිත පවත්වාගෙන යන වායෝ කසින පිරියම් කිරීමට බොහෝ පසුකාලීන යෝගාවචරයන් පුරුදු විය.

ප්‍රාණයාම - කසින පිරියම් භාවනා කිරීමෙන් ද අනාර්ය ධ්‍යානයන් ලබාගත හැකිය. මේ අනාර්ය ධ්‍යානයන් චේතෝවිමුක්තිය ලබාගන්නට මිස ප්‍රඥා විමුක්තිය ලබා මගඵල පූර්ණය කරගන්නට කිසිසේත්ම උපකාර නොවන බව සියලු බෞද්ධයින් නිවැරදිවම තේරුම්ගත යුතුය.

මේ අනුව බුද්ධ දේශනාවෙහි එන කායගතා සති වග්ගයෙහි පැහැදිලිවම දේශනා කළ "ඒක ධම්මෝ භාවිතා, බහුලී කථා පඤ්ඤා විමුත්තිං අධිගතා" යන අර්ථය වෙනස් විය. විශුද්ධි මාර්ගයේ පෙන්වා දුන් වායෝ කසින භාවනාව ආනාපාන භාවනාවක් ලෙසින් පසුකාලීන ටීකා, ටිප්පනි ලියූ බොහෝ දෙනා ද මතුකර පෙන්වන්නට උත්සාහ ගත්හ. මේ අනුව විශුද්ධි මාර්ගය ගරුකොට ගුරු කොට පසුකාලීනව ලියා පල කළ සියලු පොත්පත්වල ආශ්වාස-ප්‍රශ්වාස භාවනාව මිස බුද්ධ භාවනාවක් වූ සබ්බපාප-පජ්ස කුසල-අස්ස- උපසම්පදා යන්න භාවිතයෙන් බැහැර විය. නිවන් මග වැසී ගියහ. අසඤ්ඤතල කරා යන්නට පාර විවෘත විය. අනාර්ය ධ්‍යානයන් ලැබීමේ ක්‍රමවේදය යළිත් ඉස්මතු විය. මේ මග බුදු දහම නොවේ.

## 9. බුද්ධඝෝෂ හිමියන් හා හෙළ අටුවා

බුද්ධඝෝෂ හිමියන් පරිවර්තනය කර ලියූ විශුද්ධි මාර්ගය, සමන්තපාසාදිකාව ඇතුළු පාලි අටුවා පොත් 17 කටම වාගේ මූලික කරුණු උපුටා ගත්තේ මහා අට්ඨ කථා හෙවත් මූල අට්ඨ කථා නමැති හෙළ බසින් ලියූ මුල් පුස්කොළ පොතෙනි. මේ බව බුද්ධඝෝෂ හිමියන් ලියූ සියලුම පොත්වල තැනින් තැන පැහැදිලිවම සටහන් කර ඇත.

මේ වනවිට, විශුද්ධි මාර්ගය නම් පාලි අටුවාව ලියූ කාලය වනවිට එනම් සත් මහල් පුස්තකාලය ගිනිබත් කර විනාශකර දමන්නට පෙර එම මහාවිහාරික පුස්තකාලයේ හෙළබසින්ම ලියූ සීහල අට්ඨකථා, හෙළ අට්ඨකථා, මහා පච්චරිය අට්ඨකතා සහ කුරුන්දි අට්ඨකථා යනාදී වශයෙන් හෙළ අටුවා පොත් පත් රාශියක්ම තිබුණත් ඒවා පරිශීලනය කරන්නට හෝ කියවන්නට හෝ බුද්ධඝෝෂ හිමියන්ට මහා විහාරිකයින් ඉඩ අවසර ලබා දුන්නේ නැත. ඒ නිසා මූල අට්ඨකථාවෙහි සඳහන් වූ දේවල් පමණක් ම උපුටා විශුද්ධි මාර්ගය හා සමන්තපාසාදිකාව ආදී පොත් 17 ම ලියූ බව ඉතාම පැහැදිලිය. මේ අනුව හෙළ බසින් ලියූ සිහළ අට්ඨකථා, හෙළ අට්ඨකථාවල තිබූ බොහෝ වැදගත්, වටිනා නිවන් මගට උපකාරක තොරතුරු බුද්ධඝෝෂට කියවා බලා තේරුම් ගත නොහැකි විය. ඔහු හැම තැනකම ගෞරවාන්විතව වර්ණනා කළේ මූලඅට්ඨකථාවම පමණි. ඒ ඔහුට පරිශීලනයට අවසර ලැබුනේ එම අටුවා පොත පමණක්ම නිසාය. මහා විහාරිකයින් මුලපටන්ම බුද්ධඝෝෂ ගැන මෙන්ම භාරතයෙන් පැමිණි උගතුන් කෙරෙහි බලවත් අවිශ්වාසයෙන් හා සැකයෙන් බැලූ බවට මෙය මූලික සාධකයකි. අවසානයේ පෘතග්ජන මහාවිහාරික භික්ෂූන්

බුද්ධඝෝෂගේ උපක්‍රමයට හා කුමන්ත්‍රණයට රැවටුණු අතර ඔහුගේ සංස්කෘතික හා ආගමික කුමන්ත්‍රණය හා විප්ලවය සාර්ථක විය. බුදු දහමත්, හෙළ අටුවාත් විනාශ විය. පාලි අටුවා ටිකකුත්, මහා සාංඝික නිකායික අභයගිරියත් ඉතිරි විය. මේ අනුව බුදුදහම අභාවයට ගියහ. ආගමක් මතුවිය. හෙළ බිම හෙළ ජනතාවට නිවන් දැකගන්නට තිබූ මග (හෙළ අටුවා) සහමුලින්ම ඇහිරී ගියහ. මෙහි ප්‍රතිඵලය වූයේ හෙළ ජනයා ද ආගමක් අදහන ජාතියක් බවට පත්වීමය. මේ විනාශය විකෘතිය පසුගිය වසර 1800 ක් තරම් දීර්ඝ කාලයක් තුලම දිගින් දිගටම හෙළ බිම ජනතාවට බලපෑවේ ය. බුද්ධ ධර්මය අනුගමනය කරනු වෙනුවට බුද්ධාගමක් භක්තියෙන් හා විශ්වාසයෙන් අදහන ජාතියක් බවට පත් වූයේ මේ කරුණු මුල්කොටගෙනය. දැන් නැවතත් නිර්මල බුදුදහම මතුකර නිවන් මග හෙළි කර සිදුවූ වරද නිවැරදි කරගෙන යලිත් නිවන් දකින්නට සුදුසු පරිසරයක් සකස් වෙමින් පවතින බව ද නිර්භයවම පැවසිය හැක, ලියා දැක්විය හැකිය.

අදටත් තවමත් සම්මතයෙන්, සම්ප්‍රදායෙන් හා භක්තියෙන්, විශ්වාසයෙන් ආගමක් අදහන මහායානික සංකල්ප කරපින්නා ගත් සිංහල බෞද්ධ යැයි අභිමානයෙන් උදම් අනන බොහෝ ගිහි පැවිදි පෘතග්ජන පිරිසට දෑස් ඇර බලා පරම සත්‍යය දැන තේරුම්ගෙන මග දැකගන්නට දැන් කාලයයි, අවස්ථාවයි.

# 10. ඛුද්දක නිකාය හා පසුකාලීනව එකතු කරගත් දේ

බුදුපියාණන් වහන්සේගේ පිරිනිවීමෙන් පසුවත් බොහෝ දෙනෙක් හෙළදිව දී මෙන්ම ඉන්දියාවේදීත් විවිධාකාර වූ ධර්ම කාරණා සම්බන්ධව මෙන්ම දහමට සමාන වූ වෙනත් දේවල් පිළිබඳව ද බොහෝ පොත්පත් ලියා පළ කළහ. මෙම පොත්පත් ලියා පල කිරීමේදී ද නිර්මල බුදු දහමෙහි දේශනා කර වදාළ මාගධී පදවැල්ම පදපරම ලෙසින් භාවිතා කරමින් ඒ පදවැල්වලටම තම තමන්ගේ මතවාද යන්ද අර්ථ කථන ලෙසින් එකතු කරමින් පොතපතෙහි සටහන් කළ බව පෙනේ.

මේ අනුව බුදු පියාණන්ගේ පිරිනිවීමෙන් පසුව ලියූ ථේරි ගාථා, ථේර ගාථා, ධම්මපද, විමානවත්ථු, පේතවත්ථු ජාතක පාලිය ආදී බොහෝ පොත්පත් කුද්දක නිකාය ලෙසින් හැඳින්වූයේ ඒවා පසුව එකතු කරගත් දේ යන අර්ථයෙන් පෙන්වාදීමටය. මෙහිදී පෙන්වා දිය යුතු විශේෂ කාරණය වන්නේ පසු කලක ලියූ බොහෝ පොත්පත් වලට ද මූලික වූයේ ද පාදක වූයේ ද බුදු දහමේ හෝ ඒ වනවිටත් ලේඛනගත කර නොතිබූ පෙල දහමේ ත්‍රිපිටක දහමේ වනපොත් කරගෙන පවත්වාගෙන ආ දහම් පාඨයන්මය. ධම්ම පදය මේ ආකාරයට ලියූ වැදගත්ම පොතකි. ධම්ම පද යනුවෙන් අනුරාධපුරයේ දී ලියූ මෙම පොතෙහි සඳහන් සියලු දේ බුද්ධ දේශනාවෙන්ම උපුටාගත් පාඨයන්ම නැවත මතුකර ලියා දැක්වීමකි. රජවරුන්ට, උගතුන්ට, සිටුවරුන්ට ලෞකික පැවැත්ම යහපත් කරගන්නට උපකාර වන පරිදි බණ කියන්නට දේශකයන්ට ධම්ම පදය මහත්සේම උපකාර විය. බුද්ධ වර්ෂ 456 දී ත්‍රිපිටකය ග්‍රන්ථාරූඪ කරන්නට වසර 60 කට පමණ පෙර අනුරාධපුර මහා විහාරයේ දී

එදා එහි වාසය කළ ථේරවාදී මහා විහාරික උගතෙකු විසින් ධම්ම පදය නමින් පොතක් ලියා එය ලෝකයාට බණ කියන්නට උපකාර කරගත් බව පැහැදිලිය. නමුත් මෙම ධම්ම පදය තුළ පටිච්ච සමුප්පාද ධර්මයෙහි සම්පූර්ණ අර්ථය විග්‍රහවන පරිදි පටිච්චසමුප්පාද තිපරිවට්ටයම විග්‍රහ නොවන නිසා මෙහි නිවන් මග හෝ විමුක්ති මාර්ගය හෝ පූරණය වන පරිදි විග්‍රහ කර නැත. ලෝකය හා ලෞකිකත්වය යහපත් කරන්නට උපකාර වන දහම් කරුණු මෙහි පැහැදිලි කළත් උභතෝභාග විමුක්තියම ශාක්ෂාත් කරගන්නට මග කියාදී නැත. කුසලමූල පටිච්ච සමුප්පාද ධර්මය පිළිබඳව කිසිම ආකාරයකින් එහි සඳහන් කර නැත. ධම්මපදයෙහි දස අනුස්සති භාවිතයට ගන්නා ආකාරය පැහැදිලි කර දී නැත. ඒකායන මාර්ගය භාවිතයට ගන්නා ආකාරය විග්‍රහ කර නැත. සං දේශනාව ගැන විග්‍රහ කර නැත.

මේ ආකාරයටම පිටකෝපදේසය, නෙත්තිප්‍රකරණය ආදී කුද්දක නිකායට අයත් අනෙක් පොත්පත් ද බුදු පියානන් වහන්සේගේ පිරිනිවීමෙන් වසර 500 කට පමණ පසුව ශ්‍රාවකයින් විසින් ලියූ පොත්පත්ය. ඒ කිසිදු පොතපතක බුද්ධ ඥාන පද, සංදේශනාව, ද්වතා ධර්මය, අනුස්සති අනුපස්සනා හෝ සත්තිස් බෝධි පාක්ෂික ධර්මයන් පූරණය කරගෙන නිවන් මග පූරණය කරගන්නට උපකාරක වන අයුරින් දහම් මග ලියා දක්වා නැත. භාවිතයට ගන්නා ආකාරය ලියා නැත.

ඉන්දියාවේ දී ලියූ මිලින්ද ප්‍රශ්ණය ද මෙවැනිම පොතකි. එය මුලින්ම ලියුවේ සංස්කෘත ඡංදස් වෛදික භාෂාවෙනි. පසුව පාලි භාෂාවටත් ඉන්පසුව සිංහලටත් මේ පොත පරිවර්තනය කර ඇත.

මීට අමතරව හෙළ බිමේ දී මෙන්ම පර දේශවලදී ද ලියූ අටුවා කථා රාශියක්ම තිබූ බව සමන්තපාසාදිකාවේත් කථාවත්ථුප්‍රකාරණයේත් යන අටුවා කථාවල පැහැදිලිවම සඳහන් කර ඇත. බුද්ධඝෝෂ හිමියන් සමන්තපාසාදිකාව ලියන්නට පෙර මෙවැනි අටුවා කථා පොත් භාවිතයේ තිබූ නිසා මේවායේ නම් සමන්තපාසාදිකාවෙහි ද සඳහන් වෙයි.

අට්ඨකතිකා, අට්ඨකථා චරියා, ආචාරියවාද, ආචරිය මත, ථේර සල්ලාප පරදේශ හා පරාසමුද්‍රවාසී මත යනා දී අට්ඨකථා විශුද්ධි මාර්ග අටුවාව ලියා පල කරන විටත් ඊට පෙර ලියා පල කර භාවිතයේ පැවතුණි. මෙවැනි පසුකාලීනව ලියූ අටුවා ටීකා පොත්පත්වල හෝ කුද්දක නිකායට අයත්වන කිසිදු පොතක් පතක් හෝ පරියාප්ති සාසනයට අයත් යැයි තීරණය කළ නොහැකිය. නමුත් මෙහිදී එකක් නිවැරදිවම පෙන්වා දිය යුතුය. පසුකාලීනව මෙම පොත් දීඝ නිකාය ආදී වශයෙන් නිකාය වලට බෙදීමේ දී පටිසම්භිදා මග්ගප්ප්‍රකරණයත් ඛුද්දක නිකායේ පොතක් ලෙස වර්ග කර සටහන් කර තැබීම නම් සිදුවූ බලවත්ම වරදකි. මෙය ප්‍රකරණ පොතකි. ප්‍රකරණ පොත් ලෙසින් සටහන් වන, විභංගප්ප්‍රකරණය, පට්ඨානප්ප්‍රකරණය හා පටිසම්භිදා මග්ගප්ප්‍රකරණය ආදී ප්‍රකරණ පොත් සියල්ලම පළමුවැනි ධර්ම සංඝායනාවේදීම ප්‍රකරණය කර නැවත සකස් කර ඉදිරිපත් කළ අභිධර්ම කොටසට අයත් පොත්ය. ඒවායේ අඩංගු වන්නේ නිර්මල බුද්ධ වචනයයි. උපමා කථා, පරිවාර කථා, ආදර්ශ කථා ආදී කථාවන් සියල්ල අතහැර මූලික ධර්ම කරුණු විභංග කර ප්‍රකරණ පොත්වල පෙන්වා දී ඇත. අද වනවිට මේවායේ අග මුල මැද තේරුම් ගන්නට නොදත් අර්ථ, ධම්ම, නිරුක්ති, පටිසම්භිදා ඥාණයෙන් පහදා දකින්නට නොදත් පෘතග්ජන උගතුන්ට මේවායේ ඇති දහම් කරුණු වල

වටිනාකම ද තේරුම් ගත නොහැකි වී ඇත. නිවනට උපකාර වන පරියාප්ති ධර්මයත්, නිවනට උපකාර නොවන පැවැත්ම හා ලෝකය පවත්වාගෙන යන්නට උපකාර වන අපරියන්ත දහමත් යන දෙක වෙන්කොට නිවැරදිව තේරුම් කර ගන්නට නොදත් යුගයක මෙවැනි විකෘති දේ සිදුවීම ද ස්වාභාවික සංසිද්ධියකි. ලෝකයක් දිගටම පවත්වාගෙන යන්නට කාමලෝකවල, සුගතිලෝකවල දෙව්සැප, බ්‍රහ්ම සැප, රජ සැප, සිටු සැප විඳිමින් කාලය ගෙවන්නට උපකාර වන යහපත් දේ "ආගම" යන මාගධී පදයෙන් අර්ථ දැක්වීය. ධම්ම මාර්ගය යන පදයෙහි අර්ථය ඊට හාත්පසින්ම වෙනස්ය. කුසල ධම්ම, බුද්ධ ධර්ම යන පද වලින් අර්ථ ගන්වන්නේ කුණුසලා හැර සංසාර ගමන නිමා කර නිබ්බාන සුවයෙන් සුවපත් වීමට පෙන්වූ මාර්ගයයි.

මේ අනුව පරියාප්ති සාසනයට අදාළ වන සේ දේශනා කරන ලද නිර්මල බුද්ධ භාෂිතයත්, ඊටම ලියූ හෙළ අටුවාත් පමණක් පරියාප්ති ධර්මය ලෙසත්, පසුව ලියූ ඛුද්දක නිකායට අයත් පොත්පත් මෙන්ම, බුද්ධඝෝෂ හිමියන් ලියූ පාලි අටුවා පොත් පෙළත් පරියාප්ති සාසනයට අයත් දේවල් නොවන බව පැහැදිලිවම පිරිසිදුවම බෞද්ධයා විසින් තේරුම් ගත යුතුය. ලෝකය හදන, ලෝකය සුවපත් කරන දහම හා ලෝකයෙන් එතෙර වන සදහටම දුකින් මිදී නිදහස් වන්නට උපකාර වන දහම යනුවෙන් විග්‍රහ කර පෙන්වා වදාළ මේ මාර්ග දෙකම නිවැරදිව තේරුම් ගන්නට නම් හේතුඵල දහමට බහා ගලපා බලා, ණය විනයට සසඳා බලා භාවිතයට ගත යුතු බව බුද්ධ දේශනාවයි. "යෝ ධම්මෝ, යෝ විනයෝ සෝ භාසිතබ්බෝ" යනු බුද්ධ වචනයයි.

# 11. ත්‍රිවේදය පොරාණ ග්‍රන්ථ හා බුද්ධඝෝෂ හිමි

බුද්ධඝෝෂ හිමියන්ගේ චරිතය හා ජීවිත කථාව ලියූ B. C. ලෝ නමැති සුදු ජාතිකයා පෙන්වා දෙන පරිදි බුද්ධඝෝෂ ත්‍රිවේදයෙහි පරප්‍රාප්ත පතංජලී ධර්මය හැදෑරූ කලිඟු රට (ඔරිස්සාවේ) පතංජලී ආශ්‍රමයක වාසය කළ උගත් බමුණෙකි. මෙම බමුණා සිංහල භාෂාව මෙන්ම පාලි භාෂාවත්, ත්‍රිවේදයත් පුරාණ ග්‍රන්ථ මෙන්ම උපනිෂද් ධර්මයත් මනාව උගත් බමුණෙකි. මේ අනුව හෙළ බස හා පාලි බස ද උගත් උපනිෂද් ධර්මයෙන් ද හික්මවූ, ත්‍රිවේදයෙහි පරප්‍රාප්ත වූ මෙම බමුණා පසුව පතංජලී ආශ්‍රමයෙන් හෙළබිමට පැමිණියේ බුද්ධ ශ්‍රාවකයෙකුගේ වේශයෙනි. සිවුරු ඇඳගත් ශ්‍රමණයෙකුගේ විලාසයෙනි. ඒ මහාවිහාරිකයින් ගෙන් හෙළ අටුවා ලබාගන්නට යෙදූ උපක්‍රමයකි.

හෙළ බස හා පාලි බස ද හොඳින් උගත් මෙම බමුණා මහාවිහාරිකයින්ව මුළාකර හෙළ අටුවා පොත් ලබාගත් අතර ඒවා පරිශීලනය කරමින් විශුද්ධි මාර්ගය සමන්තපාසාදිකාව හා අනෙක් අටුවා පොත් 17 ක් ම පාලි බසට පරිවර්තනය කරමින් ලියා තැබූහ. බුද්ධඝෝෂ විසින් පරිවර්තනය කළ මෙම පාලි අටුවා පොත් ලිවීමේ දී පුරාණ ග්‍රන්ථවල හා ත්‍රිවේද ග්‍රන්ථවල මෙන්ම උපනිෂද් දහමට අදාළ දේවල් කාටවත්ම නොදැනෙන පරිද්දෙන් හොර රහසේම පාලි අටුවාවට ඇතුළත් කර ලියා, ඇති බව E. W. අධිකාරම් මහතා ලියූ හෙළබිමේ මුල් බුදු දහම (Early History of Buddhism in Ceylon) නමැති පොතේ ද එතුමා ලේඛනයක් ද සකස් කරමින් පැහැදිලිවම පෙන්වා දී ඇත. (Page 17) මේ අනුව හෙළ අටුවාවන් පාලියට

පරිවර්තනය කළ බුද්ධඝෝෂ හිමියන් බුදු දහමට නොගැලපෙන නමුත් දේව ආගම් සංකල්ප වලට ගැලපෙන සේ බොහොමයක් දේ තම මතය ලෙසින් පාලි අටුවා පොත් වලට ඇතුළත් කර ඇත. භාවනාවක් ලෙසින් කසින පිරියම් කිරීම බුද්ධ දේශනාවට අනුව ප්‍රතික්ෂේප කළත් විශුද්ධි මාර්ගයේ එන සමසතලිස් කර්මස්ථාන ලෙසින් පෙන්වා දුන්නේ "කසින පිරියම්" කිරීමමයි. සියලු කසින බුද්ධඝෝෂ විසින් මෙහිදී නිර්දේශ කරන ලදී. මුල් හෙළ අටුවාවල සඳහන් වූ බොහෝ ධර්ම කරුණු බුද්ධඝෝෂ හිමියන් විසින් පාලි අටුවා ලිවීමේ දී තමන්ගේ මතය අනුව වෙනස් කළ බව විශුද්ධි මාර්ගයේ බුද්ධඝෝෂ හිමියන් විසින්ම සඳහන් කර ඇත. අද තවමත් අපේ වියතුන් උගතුන් බුද්ධඝෝෂ හිමියන් අනුබුදුන් ලෙසින් සලකන්නේත්, ප්‍රකාශ කරන්නේත්, අදහන්නේත් මේ කරුණු කාරණා ගැන සත්‍යය නොදන්නාකම නිසාය. බුදු දහම විකෘති කළ බව තේරුම් නොගත් නිසාය. මුල් බුදු දහමෙහි නොතිබුණු, දේශනා නොකළ, බොහෝ දේවල් උපනිෂද් දහමට හා වේද ආගමට ගැලපෙන අයුරින් බුද්ධඝෝෂ හිමියන් විසින් පාලි අටුවාවල ලියා නිවන් දකින මග වෙනස් කළ බව පැහැදිලිවම තේරුම්ගත යුතුය. විශුද්ධි මාර්ගයේත් සමන්ත පාසාදිකාවෙහිත් අවධාරණයෙන්ම ඡේද ගණනාවකම භික්ෂූන් පිළිවෙත් පිරීමේ දී ධ්‍යාන ලබා ගැනීමේ අවශ්‍යතාවයත්, ධ්‍යානවල වටිනාකමත්, උපදේශයක් හැටියට මතුකර පෙන්වා දී ඇත. මුල් බුදු දහමේ ඒකායන මාර්ගය පෙන්වා වදාළ මහා සතර සතිපට්ඨාන සූත්‍රයේ කිසිතැනක හෝ ධ්‍යාන ලබාගැනීමේ අවශ්‍යතාවයක් හෝ ධ්‍යාන සඳහා මාර්ගය වැඩීමේ හෝ පුහුණු කිරීමේ අවශ්‍යතාවයක් ගැන හෝ වචනයකුදු සඳහන් කර නැත. සත්තිස් බෝධි පාක්ෂික ධර්මයන් (භව උදුරා දමන්නට උපකාරක ධර්ම තිස්හත) පූරණය කර ගැනීමේ එකම

අභිලාෂයෙන් ආනාපානසති සමාධියත්, සතර සතිපට්ඨානයත් වැඩීම මුල් බුදු දහමේ නිර්දේශ කර ඇත. නමුත් විශුද්ධි මාර්ගය ගරු කොට, ගුරු කොට ඉගෙනගත් පසුකාලීන භික්ෂු සමාජය මගඵල ලබා ගැනීමේ නිවැරදි මග නොදැන ධ්‍යාන ලබා නිවන් ලබන්නටම උත්සාහ කළේ මේ විශුද්ධි මාර්ගයේ පෙන්වූ වැරදි මග පෙන්වීම නිසා බවත් දැන් නිර්භයවම පෙන්වා දිය හැකිය. පරම සත්‍යය නම් කෙළෙස් මුල් උදුරා දමන්නට ධ්‍යානයන් අවශ්‍ය නොවන බවයි. මේ අනුව බුද්ධඝෝෂ ලියා පල කළ පාලි අටුවා පොත්පත් කියවූ බුද්ධ ශ්‍රාවකයින්ට නිවන් මග වැසී ගියහ. දෙව් මිනිස් සැප කෙළවර මතු බුදුවන බුදුන් දැක නිවන් දැක ගැනීමේ චේතනාවෙන් ප්‍රාර්ථනා කරන්නට පමණක් උගැන්වූ දහමක් උරුම විය. ධ්‍යාන ලබමින් නැවතත් බ්‍රහ්ම ජාලයට අසුවෙන ක්‍රමයම මතුවිය.

පටිච්ච සමුප්පාද ධර්මයේ තිපරිවට්ටයම නිවැරදිව තේරුම්ගත් කෙනෙකුට පමණක් හේතුඵල දහමට බහා ගලපා බලා, ණය විනයට සසඳා බලා නිවන් මග විවෘත කරගත හැකිය. විශුද්ධි මාර්ගය ලියන බුද්ධඝෝෂට පටිච්චසමුප්පාද ධර්මය පිළිබඳව නිවැරදි දැනුමක් හෝ යථා අවබෝධයක් හෝ නොවූ බවත් ඒ අනුව පටිච්චසමුප්පාද ධර්මයේ අවිද්‍යාමූල පටිච්චසමුප්පාද විග්‍රහය පමණක් විග්‍රහ කරමින් තවදුරටත් අතරමංවූ බවත් අවසානයේ දී බුද්ධඝෝෂම පිළිගෙන ඇත. විශුද්ධි මාර්ගය ලිවීමෙන් මෙලෙස බුද්ධඝෝෂ විසින් එදා අනාථ කළ අතරමං කළ බෞද්ධ සමාජය නැවත නැවතත් විශුද්ධි මාර්ගයම ගරුකොට සැලකූ ගුරු කොට ගෙන පොත් ලියූ බොහෝ උගතුන් විසින් ද දිගින් දිගටම අනාථ කරමින් නිවන් මග වෙනුවට සුරලොව යන චේතනාවක් ප්‍රාර්ථනාවත් හෙළ බෞද්ධයා තුළ පැලපදියම් කළහ.

රේරුකානේ චන්දවිමල හිමියන් විසුද්ධි මාර්ගය ගරුකොට එහි සඳහන් දේම නැවත ලියමින් පටිච්ච සමුප්පාද විවරණය නම් පොත නිසාත් යලිත් වරක් බෞද්ධ සමාජයම අතරමං කළහ. බුදු දහමේ එන උතුම් මග විකෘති කරමින්, විසුද්ධි මාර්ගයම කොපි කරමින් ලියූ පොතක් ලෙසින් මාර්ටින් වික්‍රමසිංහ මහතා මේ කරුණ එදා තේරුම් කර දුන්නත් (භව තරණය) අපේ පෘතග්ජන අසෘතවත් ගිහි පැවිද්දන්ට තවමත් මේ බව තේරුම් ගන්නට බැරිව තමන්ගේම නිවන් මඟ යලි යලිත් ආවරණය කරගන්නටම කටයුතු කරන පිරිසක් බවට පත්වී සිටි. අද පිරිවෙන් වල හා බෞද්ධ පාලි විශ්ව විද්‍යාලයේ පවා උගන්වන්නේත්, ඉගෙනගන්නේත් විසුද්ධි මාර්ගය හා රේරුකානේ චන්දවිමල හිමියන්ගේ පොත පතය. ත්‍රිපිටක ධර්මයේ එන විභංගප්‍රකරණ පොතේ පැහැදිලිව සඳහන් කරන අනුභය ආකාර වූ පටිච්චසමුප්පාද විග්‍රහය තේරුම්කර දෙන්නට ධර්ම ඥාණයක් නැති කලෙක කුසලමූල පටිච්ච සමුප්පාද විග්‍රහය සම්පූර්ණයෙන්ම අභාවයට ගියහ. නිවන් මග වැසී යටපත්ව ගියේ ත්‍රිපිටකයේ සදහන් නිර්මල බුද්ධ ධර්මය වෙනුවට බුද්ධඝෝෂගේ අටුවා පරිශීලනයට ගුරුවරුන් මෙන්ම සිසුන් ද පුරුදු වීමෙනි, පුරුදු කරවීමෙනි. දැන්වත් ඒ වරද නිවැරදි කරගත යුතුය. ත්‍රිපිටක ධර්මයම භාවිතයට උත්සාහ කළ යුතුය.

# 12. පුබ්බාචරියයන් හා පොරාණාචරියයන්

පොරාණාචරියයන් හා පුබ්බාචරියයන් යන යෙදුම් දෙකම පාලි අටුවා වලත් බොහෝ වෙනත් තැන් වලත් නිතර නිතර යොදා ගෙන ඇත. පොරාණාචරිය යන පදයෙන් හා (පුරාණ) ග්‍රන්ථ වල එන (පොරාණ) පදවලින් අදහස් කරන්නේ එකම දෙයක් නොවේ. පාලි අටුවාවට මුල් වූ සීහල අට්ටකතා, හෙල අට්ටකතා, මූලාට්ඨ කතා, පච්චරිය අට්ටකතාවන් ලියූ බුදුපියාණන් වහන්සේ වැඩ සිටි යුගයේදීම සමකාලීනව වැඩ වාසය කළ, මහාප්‍රාඥයන් වහන්සේලා යන නමින්ම ගෞතම ශාක්‍ය මුලින්ද්‍රයානන් වහන්සේම සදහන් කළ, මහඅරහතුන් වහන්සේලා පොරාණාචරියයන් වහන්සේලා යන නමින්ම හැදින්වූහ. පසුව අටුවා ලියූ අය (පාලි අටුවා මෙන්ම හෙලබසින් හෝ වෙනත් බසකින් අටුවා, ටීකා, ටිප්පනි ලියූ අයද) තම පොත්පත් වල එසේ සදහන් කළහ. බුදුපියාණන් වහන්සේගේ පිරිනිවීමෙන් පසුව නිවැරදිවම නිවනට මග පෙන්වා වදාළ නිර්මල දහම් දේසනා කළ හෝ දහම ලියා තැබූ බුද්ධ සාසනය පවත්වාගෙන ගිය අය පුබ්බාචරියයන් වහන්සේලා ලෙසින් පාලි අටුවා ටීකා වලද සදහන් කර ඇත. ඛුද්දක නිකායට අයත් සමහරක් පොත්පත් ලේඛනගත කර දහමට ගැලපෙන ලෙසින් ලියා තැබුවේ ද මේ පුබ්බාචරියයන් වහන්සේලා විසින්මය. පසු කලෙක පාලියෙන් අටුවා, ටීකා, ටිප්පනි ලියූ බොහෝ දෙනෙක් මෙන්ම බුද්ධඝෝෂ හිමියන් ද තම පොත්පත්වල මේ පොරාණආචාර්යයන් මෙන්ම පුබ්බාචරියයන් වහන්සේලා පිළිබඳව ද නිරතුරුවම සඳහන් කර ලියා තබා ඇත. මිලින්ද ප්‍රශ්ණය ලියූ නාගසේන හාමුදුරුවෝත් ධම්මසාංඝිකයින් වශයෙන් සංස්කෘත බසින් ලියා ඇත්තේ ද මේ පුබ්බාචරියයන් වහන්සේලා පිළිබඳවමය.

පසුකාලීනව හෙළබිමෙන් පළවා හැරිය දස වස්තුක වජ්ජි භික්ෂූන් ද ඉන්දියාවට ගොස් මහා සාංඝික නමින් අලුත් නිකායක් පිහිටුවා ගත්හ. මේ දසවස්තුක භික්ෂූන්ගෙන් පැවතගෙන ආ මහාසාංඝික නිකාය ආරම්භ කළ මූලිකයන් ද පුබ්බාචරියන් ලෙසින් මහායාණික පොත්පත්වල සඳහන් වෙයි. මේ අනුව පුබ්බාචරියන් යන්න පෘතග්ජන හා මගඵලලාභී දෙපිරිසටම භාවිතා කර ඇති බව පෙනේ.

කෑගල්ල මාතුල අලුලෙනේදී ත්‍රිපිටකය ග්‍රන්ථාරූඪ කරන තුරුම වසර 456 ක් පුරාවටම නිර්මල බුද්ධ ධර්මය වනපොත් කරගෙන කටපාඩම් කරගෙන පරම්පරාවෙන් පරම්පරාවට ගෙන ආ මේ සිවුහෙළයේ ජීවත් වූ බුද්ධ ශ්‍රාවකයින් වූ ''භානක'' වරුන්ද පුබ්බාචරියයන් හා පොරාණාචාර්යයන් යන පද දෙකෙන්ම මේ හෙළදිව තුළදී පැරණි "භානක" පරම්පරාවන් ද හඳුන්වා දුන්හ.

නිර්මල බුදුදහම මෙසේ කට වචනයෙන් හෝ ලිඛිතව හෝ පරම්පරාවෙන් පරම්පරාවට පවත්වාගෙන ආ මෙම පුබ්බාචරියයන් වහන්සේලා හා පොරාණාචාර්යයන් වහන්සේලා පිළිබඳව හෙළබිම ඉතිහාසයේ මිස වෙනත් රටක දී හෝ ඉන්දියානු ඉතිහාසකයක දී හෝ අසන්නටවත් ලැබී නැත. ඒ නිසා බුදු දහම උපත ලැබුවේත් වසර දහස් ගණනක් පවත්වාගෙන ආවේත් මේ හෙළබිම උපන් අය මිස පිටරැටියන් නොවන බව ඉතාමත්ම පැහැදිලිව ප්‍රකාශ කළ හැකිය.

බුද්ධඝෝෂ, මහානාම, බුද්ධදත්ත, ධම්මපාල වැනි අටුවාචාරීන් මෙරටට පැමිණියේ ඉන්දියාවෙනි. එදා හෙළ අටුවා පාලියට පරිවර්තනය කර ලියූ, වංශකථා පාලියට පරිවර්තනය කළ ඉන්දීයයන් මෙරටට පැමිණියේ මේ රටේ

එවකට ප්‍රචලිතව බුදු දහම පැවතුනු හෙයිනි. ඉන්දියාවේ මෙවැනි දහමක් තිබුනේ නම් එහි මේ දහම භාවිතා කළේ නම් ඔවුන් මේ රටට දහම සොයා පැමිණෙන්නට හේතුවක් නැත.

# 13. යෝ ධම්මෝ යෝ විනයෝ සෝ භාසිතබ්බෝ

වසර හතළිස් පහක් පමණ දිගු කාලයක් තුළම ගෞතම බුදු පියාණන් වහන්සේ දේශනා කරන ලද උතුම් ධර්මය, පරියාප්ති සාසනය, ප්‍රතිපත්ති සාසනය හා ප්‍රතිවේධ සාසනය යනුවෙන් පූරණය කරගත යුතු ත්‍රිවිධ සාසනයක් ලෙසත්, ධර්මය, විනය, භාවිතයට ගැනීම යන ප්‍රධාන පියවර තුනකුත් බුද්ධ සාසනය තුළ පනවා වදාළ සේක. මෙහිදී සාසනය යන මාගධි පදයෙන් අර්ථ ගැන්වූයේ මගඵල සාක්ෂාත් කරගැනීම නොහොත් "ඤායස්ස අධිගමාය" යන්නයි. මගඵලලාභීන් බිහි නොවන කලක බුද්ධ සාසනය අභාවයට යන්නේය. බුද්ධ සාසනය මතු කළේ ධම්ම අනුසාසනයෙනි. දහම නිවැරදිව භාවිතා නොකරන විටක මගඵල ලැබිය නොහැකිය. බුද්ධ සාසනය පවත්වාගෙන ගියේ විනය (ණය විනය සසඳා බලා) රැකීමෙනි. මෙහි ධම්ම යනු හේතුඵල දහමයි. පටිච්ච සමුප්පාද දහමයි. පටිච්ච සමුප්පාද ධර්මයේ තිපරිවට්ටයම භාවිතයේ නැති කලෙක සාසනය ද අනුසාසනය ද යන දෙකමත් අභාවයට යයි. "විනය" යනු අද බුද්ධාගමේ අර්ථ දක්වන විනය නීති මාලාව යන අර්ථයට වඩා ගැඹුරු අර්ථයක් සහිත මාගධී පදයකි. මෙය පසුව නීති මාලාවක් ලෙසින් සාසනය පවත්වාගෙන යන්නට උපකාර කරගත්තත් විනය යන්නෙහි පරමාර්ථය ඊට හාත්පසින්ම වෙනස් වූ ධර්ම අර්ථයක් ඇති පදයකි.

බෞද්ධයකු, බුද්ධ ශ්‍රාවකයෙකු යනු භව-උදුරා දමන්නට ඇප කැප වී කටයුතු කරන පුද්ගලයෙකි. භව යනු රාග භව, ද්වේශ භව හා මෝහ භව යන්නයි. රාගයෙන්, ද්වේශයෙන් හා මෝහයෙන් කටයුතු කරන සියලුම

පෘතග්ජන පුද්ගලයින් එසේ කෙලෙස් සිතින් ක්‍රියා කරන හැම අවස්ථාවකම සංසාර ණය ගණුදෙනුවකට ද පටලැවෙයි. බැඳෙයි. එවන් පුද්ගලයෙකු යළි යළිත්, මතු මතුත් නැවතත් උපත ලබන්නේම මෙසේ අතීතයේදී වූ ණය ගෙවන්නටය. මිනිසෙකුව උපත ලත් අවස්ථාවකදීම පමණක්ම මේ ණය ගණුදෙනුව පිළිබඳව ද සියලු කරුණු කාරණා තේරුම් ගෙන ණයෙන් මිදී ණයෙන් වෙන්වන ආකාරයත්, තේරුම් ගත්තොත් එසේ ක්‍රියා කරන පුද්ගලයා ණයෙන් මිදෙන පුද්ගලයෙකි. විනයෙහි පිහිටා කටයුතු කරන්නෙකි. විනෙයිය ලෝකේ යනුවෙන් ප්‍රකාශ කළේ ද ණයෙන් සදහටම සහමුලින්ම මිදී ණයෙන් වෙන් වී ලබන සුඛයයි. මෙයම අනන සුඛ, අත්ථි සුඛ, අනවජ්ජ සුඛ, භෝග සුඛ යැයි දහමෙහි විග්‍රහ කර ඇත. මේ අනුව නිවැරදිවත්, ප්‍රායෝගිකවත් ධම්ම විනයෙහි පිහිටා කටයුතු කරන පුද්ගලයා ආනාපානසති සමාධියෙහි ද පිහිටා කටයුතු කරන්නෙකි. ත්‍රිවිධ දුෂ්චරිතයෙන් වෙන් වූ ත්‍රිවිධ සුචරිතයෙහිම පිහිටා කටයුතු කරන්නා ධම්ම විනයේ ගාධන්ති යනුවෙන් පෙන්වූහ. රාගයෙන් තොර, ද්වේශයෙන් තොර, මෝහයෙන් තොර පුද්ගලයා සියලු ණයෙන් මිදී නිදහස් වන්නට දනගත් මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා සිතකින් කටයුතු කරයි. මෙය ධම්ම විනයෙහි පිහිටා මාර්ග චරියාව පූරණය කර ගැනීමයි.

හේතුඵල දහම අභාවිතයට යාමත්, ණයෙන් මිදී නිදහස් වන නිවැරදි ක්‍රමය වූ විනයෙහි නොපිහිටීමත් යන පියවර දෙකම වරදවා ගැනීම නිසා ධම්ම විනයේ භාවිත ද නැතිවිය. මේ අනුව නිවන් මගඵල ලබා ගැනීමේ මාර්ගය වැසී ගියහ. ප්‍රාර්ථනා කරමින්, යාඥා කරමින් මතු බුදුවන බුදුන් දකින්නට ක්‍රමයක් ඉගැන්වීම බුද්ධාගමයි. බුද්ධාගමෙහි

නාමික ධම්ම විනයක් පද පරම ලෙස විග්‍රහ කළත් එහි භාවිතයක් නැති නිසා ආගමෙහි නිවන් ලබන මගක් ද නැත. නිවන් දැක්ම යනු බුද්ධ ධර්මය මාර්ග චරියාව අනුගමනය කිරීම මිස ග්‍රන්ථ ධූරය පිරීම නොවේ. ආගමක් ඇදහීමක්ද නොවේ.

# 14. පළමුවන ධම්ම සංගායනාව

බුදු පියාණන් ජීවමානව වැඩ සිටි යුගයේ උන්වහන්සේ විසින්ම සියලු ධර්ම ගැටලු වලට සමාජ ප්‍රශ්න වලට ඒ ඒ අවස්ථාවේදී ම නිවැරදි මග පෙන්වා පිළිතුරු සපයා ප්‍රශ්නයන් විසඳා ශ්‍රාවකයින් ධර්මයෙහි විනයෙහි භාවිතයට යොමු කළහ. නමුත් මේවා කිසිවක්ම ලියා තබා හෝ නීති මාලාවක් ලෙසින් සකස් කර හෝ තිබුනේම නැත. බුදු පියාණන් පිරිනිවී වදාළ නොබෝ දිනකින්ම මෙවැනි සියලු තැන්වලදී දේශනා කළ දේ මෙන්ම පැනවූ විනය නීති ද රැස්කර, ගොනුකර මතු භාවිතයට ගන්නට සුදුසු ලෙසින් සකස් කිරීමේ අවශ්‍යතාවයක් පැන නැගුණි.

ගෞතම බුදු පියාණන්ගේ පිරිනිවීමෙන් මාස තුනක් ගතවන විට මේ බව පැහැදිලිව වටහාගත්, මහා කාශ්‍යප මහ අරහතුන් වහන්සේ මෙන්ම අනෙකුත් මගඵලලාභී උතුමන්ගේ ද මූලිකත්වයෙන් සියලුම බුද්ධ භාෂිතය මතුකර, ගොනුකර, පිළිවෙලකට සකස් කර මතු මගඵල ලබන්නන්ට උපකාර වන පරිද්දෙන් සංගායනාවක් කළහ. (Recited, classified and arrange the Buddha teachings) මේ සඳහා බුද්ධ ශ්‍රාවකයින් මූලිකත්වය හා දායකත්වය ගත් අතර, එවකට මගධ රට රජ වූ රජගහනුවර රජ කළ බිම්බිසාර රජුගේ පුතු වූ අජාසත්ත රජු මේ සඳහා යම් රාජ්‍ය අනුග්‍රහයක් ද දක්වීය. ඔහු සකස් කර දුන් ඒ සප්තපර්ණී ගුහාව අදටත් අම්පාර රජගල පුරා විද්‍යා නටඹුන් අතරේ දැකගත හැකිය. පළමුවන ධම්ම සංගායනාව හා ඒ පිළිබඳව විග්‍රහ කළ සියලු විස්තරයන් මහාවංශයේ මුල් පරිච්ඡේදවල පැහැදිලිවම සඳහන් වෙයි. මහාවංශය මෙන්ම දීපවංශයේත් මේ බව පැහැදිලිව සඳහන් කර ඇත. මේ වංශ කථා පොත් දෙකම හෙළබිම ඉතිහාසය ලියා දැක්වූ

පොත් මිස ඉන්දියාවේ ඉතිහාසයක් ලියා දක්වූ පොත් නොවේ. එකල දඹදිව වූයේ හෙළබිමේ නැගෙනහිර හා රුහුණු ප්‍රදේශයන්ය. ඊට කුරුරට හා කඳුකර ප්‍රදේශයන් ද අයිති විය. ජන්බුද්වීප කඩඉම් පොත නමින් සිංහල අකුරෙන් ලියූ පුස්කොළ පොතක ජන්බුද්වීපයේ සීමා මායිම් පැහැදිලිවම සටහන් කර ඇත. මේ කිසිම තොරතුරක් භාරතයේ හෝ ඉන්දියාවේ දී හෝ ලියූ කිසිම පොතක පතක ලේඛනයක සටහන් කර නැත.

මෙම පළමුවන ධම්ම සංගායනාවේ දී ගන්නා ලද වැදගත්ම තීරණයක් වූයේ භාණකවරුන් තුන්කොටසකට බුද්ධ භාෂිතය ඉදිරියට නොකඩවා, නිවැරදිව පරම්පරාවෙන් පරම්පරාවට පවත්වාගෙන යන්නට පවරා දීමයි. ඒ අනුව විනය පිටකය හා ඒ සම්බන්ධ බුද්ධ භාෂිතය උපාලි මහ අරහත්වහන්සේටත් ඒ ගෝල පරපුරටත් පැවරූහ. සූත්‍ර පිටකය ආනන්ද අරහතුන් වහන්සේටත්, සැරියුත්, මහා කාශ්‍යප හා අනුරුද්ධ අරහතුන් වහන්සේලාගේ ගෝල පරපුරටත් භාර කළහ. (මේ වනවිට සැරියුත් මහ අරහතුන් වහන්සේ පිරිනිවන් පා සිටියහ.) අභිධම්ම කියා කොටසක් මෙම සංගායනාවේ දී වෙනම වෙන් නොකරන ලද අතර ප්‍රකරණ පොත් වශයෙන් පසුව ලේඛනගත කළ බොහෝ අභිධර්ම කරුණු වනපොත් කරගෙන පවත්වාගෙන යාම සැරියුත් මහ අරහතුන් වහන්සේගේ ගෝල පරපුරට භාර කළහ.

පළමුවන ධර්ම සංගායනාවේ දී මේ කිසිවක්ම පොත්වල ලියා ලේඛනගත කළේ නැත. ඊට හේතුව මාගධී ශබ්ද සංඥා වලට අකුරු නොතිබීම නිසාය. බුද්ධ භාෂිතය දහම් කරුණු පෙළගස්වා සකස් කිරීම හා ඒවා වනපොත් කරමින් කට වචනයෙන් පරම්පරාවට පවත්වාගෙන යන ක්‍රමයක්

මෙහිදී සකස් කළහ. මේ වනවිටත් මහා කච්චායන, මහා කොට්ඨියායන, මහා අනුරුද්ධ, මහා රේවත වැනි ප්‍රාඥයින් වහන්සේලා විසින් මෙම බුද්ධ භාෂිතයෙහි තිබූ ධර්ම කරුණු සියල්ලම වාගේ හෙළ අටුවා ලෙසින් හෙළ බසින් ලියා පුස්කොළ පොත් හැටියට රජගහනුවර (රජගල) ආරාමවල හා පුස්තකාලවල භාවිතයට ගනිමින් තැන්පත් කර තිබිණි. බුද්ධ පරිනිර්වාණයෙන් වසර එකසිය අනූවකට පමණ පසු (ක්‍රි.පූ. 240 පමණ දී) මිහිඳු කුමාරයා රජගල දී මහණ වී බුදු දහම මනාව ඉගෙන ගෙන මගඵල ලබා පසුව අනුරාධපුරයට (ලංකාපුර) බුද්ධ ධර්මය යළි හඳුන්වාදීමේ දී මෙම හෙළ අටුවා පොත් කීපයක් රජගහනුවර (රජගල) පුස්තකාලයෙන් අනුරාධපුරයට මිහිඳු හිමියන් විසින් රැ ගෙන ගිය බව මහාවංශයෙහි ඉතාමත්ම පැහැදිලිව ලියා තබා ඇත. මේ අනුව එදා රජගහනුවර පිහිටියේ හෙළබිමේ බවත්, මිහිඳු හිමියන් මහණ වී දහම් ඉගෙන ගත්තේත්, මගඵල ලැබූයේත් මේ හෙලබිමේම පිහිටි රජගහනුවර දී (රජගල) බවත්, මහාවංශයේ ඉතාම පැහැදිලිව ලියා දක්වා ඇත. මිහිඳු හිමියන්ගේ පිරිනිවීම සිදුවූයේ ද අම්පාර රජගලදීය. ඒ එදා රජගහනුවරය. මේ බවට පැහැදිලිව සාක්ෂි ඇත. මිහිඳු හිමියන්ගේ භෂ්මාවශේෂ තැන්පත් කර එදා රජගල අම්පාරේ චෛත්‍යයක් ගොඩනැගූ අතර රජගල බිමේ පිහිටි ගලක මේ සියලු කරුණු සඳහන් කර ශිලා ලිපියක් ද කොටා ඇත. ඒ මිහිඳු හිමියන්ගේ භෂ්මාවශේෂ තැන්පත් කළ චෛත්‍යයට නුදුරින් වූ තැනක අදටත් පළමු ධර්ම සංගායනාව පැවැත්වූ සප්තපර්ණී ගුහාව ද දැකගත හැකිය. අද එය කුඩගල නමින් මහජනයා නම් කර ඇත. මේ සිදුවීම් ඉන්දියාවේ දී සිදුවූවා නම් ඉන්දියාවේ පොතක පතක හෝ ලියවිල්ලක හෝ ඉතිහාස පුරාවෘත්තයක හෝ යන්තම්වත් සඳහන් වන්නට තිබිණි. නමුත් ලංකාවේ දී

ලියූ ඉතිහාස පොත් වන දීපවංශයේ හා මහාවංශයේ මිස ඉන්දියාවේ දී ලියූ කිසිම පොතක මේ කරුණු කිසිවක් යන්තම්වත් සඳහන් වන්නේම නැත. අද අපි කියවන පාලියට පරිවර්තනය කරන ලද ඉතිහාස පොත් වල - මහාවංශය-දීපවංශය මෙන්ම පාලියට පරිවර්තනය කරන ලද පාලි අටුවා පොත්වල - විශුද්ධි මාර්ගය, සමන්තපාසාදිකාව ආදී වූ පොත්වල සඳහන් වන බොහෝ කරුණු බුද්ධ වර්ෂ 915 වැනි පසු කාලයකට අදාළ තොරතුරුය. මෙසේ පරිවර්තනය කළ පොත් මීට වසර තුන්සියයකට පමණ පෙර පටන්ම ලියාගෙන ආ ඉතිහාස පොත් මෙන්ම වසර 950 කට පමණ පෙර ලියූ හෙල අටුවා පොත්ය. පරිවර්තකයන් විසින් මෙම පොත්පත් බුද්ධ වර්ෂ 915 ට ආසන්න කාලයක දී හෙළබිමේ දීම පාලියට පරිවර්තනය කරන විට ඔවුන් එදා දරූ ආගම් මතවාද මෙන් උගත් ආගම් මතවාදයන් හා වෙනත් ලෞකික භෞතික තොරතුරු ද පරිවර්තනය කළ යුගයේ පැවති මතවාද හා තොරතුරු මිස මුල් හෙළ පොත් ලියූ යුගයේ පැවති මතවාද නොවන බවත් ඉතාමත්ම පැහැදිලිය. මේ හෙළ පොත්පත් පාලි බසට පරිවර්තනය කළේ පරදේසී ඉන්දීය ජාතිකයන්ය. ඒ අනුව එදා ඉන්දියාවේ පැවති දේව ආගම් සංකල්ප, ජෛන හා පතාංජලී ආගමික සංකල්ප සියල්ලම මේ අටුවා පොත්වලට ඇතුළත් කර ලියා ඇති බව සමන්තපාසාදිකාවෙහි හා විශුද්ධි මාර්ගයේ එන කසින පිරියම් කිරීම හා අනාර්ය ධ්‍යානයන් පිළිබඳව ලියූ විස්තර වලින්ම පැහැදිලිය.

පළමුවැනි ධම්ම සංගායනාවේ දී ධම්මධර, විනයධර හා අභිධම්මික යනුවෙන් කොටස් තුනකට බුද්ධ ශ්‍රවකයන් බෙදූ අතර ඒ ඒ ධර්ම කොටස් අධ්‍යයනය කිරීම මෙන්ම

පරම්පරාවෙන් පරම්පරාවට ධර්මය පවත්වාගෙන යාම ද ඒ ඒ අයට බාර විය. මුල් යුගයේ දී බුද්ධ ශ්‍රාවකයන් ග්‍රන්ථධූරය පිරීමට වඩා විපස්සනාධූරය පිරීමෙන් මගඵල ලබාගැනීමට උපකාරී වන පරිදි බුද්ධ භාෂිතය කටවචනයෙන් ද, ප්‍රායෝගිකවද, යුගනන්දව ද පවත්වාගෙන යන්නටම කටයුතු කළහ.

නමුත් කල්යත්ම ධම්මධර, විනයධර හා අභිධම්මික යන නාමයන් ද වෙනස් වී දීඝභාණක, මජ්ජිම භාණක යන නම් භාවිතයට පැමිණි අතර විපස්සනා අනුපස්සනා ධූරයන් පිරීම ක්‍රමයෙන් අභාවයට ගොස් ග්‍රන්ථධූරය පමණක්ම පවත්වාගෙන යන තත්ත්වයට බුද්ධ සාසනය පත්වීම නිසා එහි නියත ප්‍රතිඵලය වූයේ බුද්ධ සාසනය අහෝසි වී එය ආගමක් බවට පරිවර්තනය වීමයි. ඉන්දියාවෙන් පැමිණි ආක්‍රමණශීලී ආගමික වෛතුල්‍යවාදය, තන්ත්‍රයානය වැනි මහාසාංඝික නිකායිකයින් අනුරාධපුර නගරයට පැමිණ අභයගිරියේ හා ජේතවනාරාමයේ මහායානික මතවාදයන් පවත්වාගෙන යාම නිසා ථේරවාදී මහාවිහාරිකයින් ඉතාමත්ම අසරණ හා අනාථ තත්ත්වයට පත්විය. විශුද්ධි මාර්ගය, සමන්තපාසාදිකාව ඇතුළු පාලි අටුවා පොත්පත් ලියා අවසන් කළ නොබෝ කලකින්ම මහා විහාරය හා හෙළ අටුවා පොත්පත් ද ඉතිහාස පොත්පත් ද සියල්ලම ගින්බත් කර මහා විහාරිකයින්ව ද සමූල ඝාතනය කර ථේරවාදී බුදුදහම හෙළ බිමෙන් අතුගා දමන්නටම අභියගිරියට පක්ෂපාතී වූ ගිහි පැවිදි අය ක්‍රියා කළහ. සිංහල රජවරුන්ගේ ද සහායෙන් මේ දහම විනාශයට පත් කළහ. ථේරවාදී මූලස්ථානය වූ මහා විහාරය හා පොත්පත් ද ගිනිතබා විනාශ කළායින් පසුව (බු.ව. 915) බුදුන් වහන්සේ දේශනා කළ නිර්මල දහම් මග හෙළබිමෙන් අතුරුදන් විය. ඉන්දියාවෙන් ගෙනා මහායානික ආගම්

සංකල්ප අදහස් හා බුද්ධඝෝෂ විසින් ලියූ පාලි අටුවාවල අඩංගු පතංජලී අදහස්, ජෛන අදහස් සහිත බුද්ධ ආගමක් වශයෙන් අද වනතෙක්ම හෙළබිමේ වැඳුම්, පිදුම්, යැදුම්, පැතුම් කරමින් නිවන් මග පෙන්වූ නිවැරදි මාර්ග චරියාව සහමුලින්ම වැනසී ගිය අතර විශ්වාසයෙන්, භක්තියෙන් අදහන දේව ආගම් සංකල්පයන් බුද්ධාගම නමින් රජදරුවන් හා පාලකයින්ගේ ද සහය ඇතිව රටපුරා පැතිර ගියහ. එදා ගෞතම බුදුපියාණන් වහන්සේ දේශනා කළ වචන පදවැල්ම අද වන විටත් පදපරම ලෙසින් වැරදි අර්ථයන් සම්මත කරගෙන ආගමක් ලෙසින් පවත්වාගෙන යන බව සියලු බෞද්ධයින්ට තේරුම් ගන්නට දැන් කාලය උදාවී ඇත. ඉතිහාසයේ සිදුවූ මෙවන් වැරදි අපි මනාකොට තේරුම් ගෙන නිවැරදි නිර්මල දහම මතුකර භාවිතයට ගන්නට දැන් උත්සාහ කළ යුතුය. දැනුවත් විය යුතුය.

# 15. පළමුවන ධම්ම සංගායනාවෙන් පසුකාලීන සිදුවීම්

දැනට අපට කියවන්නට ඇති පාලි මහාවංශ අටුවාවත්, දීපවංශ අටුවාවත්, ඉතිහාසය පිළිබඳව යම් යම් කරුණු සටහන් කර තැබූ පාලි සමන්තපාසාදිකා අටුවාවත් ලියන ලද්දේ බුද්ධ වර්ෂ 915 දී පමණය. මේ සියල්ල ලීවේ ඉන්දියාවෙන් හෙළදිවට පැමිණි ඉන්දීය ලේඛකයන් විසිනි. මොවුන් මේ පොත්පත් ලියන ලද්දේ ඉතිහාස කථාවක් යළි ලිවීමක් වශයෙන් මිස සමකාලීන සිදුවීම් දැකගෙන නොවේ. විජයගේ ලංකාගමනයත් බුදුපියාණන්ගේ පිරිනිවීමත් එකම දිනක සිදුවූ බව පාලි මහාවංශ අටුවාව පවසන්නේ මේ අනුමාන දැනුමෙන්ය. කෙසේ වුවත් මේ සිද්ධීන් දෙකම සිදුවූයේ මේ හෙළබිමේදීම බව නම් මේ ප්‍රකාශයෙන් යළිත් සනාථ වෙයි. මහින්ද මාහිමියන්ගේ ආගමනයට පෙර මේ රටේ බෞද්ධයින් නොසිටි බවට ප්‍රාකාශ කරන්නේ ද මේ අටුවාකාරයින්මය. මේ අටුවාකාරයින් බුද්ධාගම හා බුද්ධ ධර්මය පිළිබඳව පරමාර්ථ වශයෙන් වෙනසක් දැක්කේ ද නැත. වැඳුම්, පිදුම්, යැදුම්, පැතුම් කරන භක්තියෙන් අදහන බුද්ධාගම ඉන්දියාවෙන් ලංකාවට ගෙනාවේ මේ ආසන්න යුගයක දී හෝ මීට සියවසකට දෙකකට පෙරදීය. අභයගිරි විහාරයේ ආරම්භය හෙළබිම බුද්ධාගමේ ආරම්භයයි. මිහිඳු හිමියන් අනුරපුරයට- එදා ලංකාපුර රාජධානියට- පැමිණියේ අම්පාර රජගල පිහිටි රජගහ නුවරින් ගමනාරම්භ කරමිනි. එදා රජගහනුවර (අම්පාර රජගල) බුද්ධ ධර්මය උගැන්වූ, ඉගෙනගත් බෞද්ධ විශ්වවිද්‍යාලයන් පිහිටි බෞද්ධ මූලස්ථානයයි.

අම්පාර රජගල දේවහෙළයට-ජම්බුද්දීපයට අයත් ස්ථානයකි. දේවහෙළයේ වාසය කළ බොහෝ දෙනෙක් බුද්ධ ධර්මය තේරුම් ගත්හ. යක්ක හෙළයේ හා නාගහෙළයේ මේ වනවිටත් බුද්ධ ධර්මය තදින් පැතිර ගොස් තිබුණේ නැත. ඔවුන් ගස් ගල් ඇදහූ, දෙවි දේවතාවන් ඇදහූ පිරිසක් විය. වෙසමුණි මහ රජතුමා බුදු පියාණන්ගේ සමකාලීනයෙකු වූ බව ආටානාටා සූත්‍රයෙහි පැහැදිලිව දක්වේ. මිහිඳු මාහිමියන් අනුරුපුරයට පැමිණෙන්නට වසර දෙසීයකටත් පෙර මියගිය වෙසමුණි මහා රජතුමා ඇතුළු චත්තාරෝ මහාරාජාවරුන් පසුකලෙක සතර වරම් දෙවි රජවරුන් ලෙස දේවත්වයෙන් අදහන්නටත් උතුරුකුරු දීපයේ ලංකාපුර රාජධානියේ ජනතාව පුරුදු වී සිටියහ. සමන්තපාසාදිකාවෙහි මෙන්ම මහාවංශයේත් දීපවංශයේත් මිහිඳු හිමියන් ලංකාපුර රාජධානියට පැමිණෙන විටත් බ්‍රහ්ම ආගම ඇදහූ පිරිසක් එහි සිටි බවටත් සඳහන් වෙයි. විජයගේ පටන් පඬුවස්, පණ්ඩුකාභය, මුටසීව, දේවානම්පියතිස්ස ආදී වසර 200 ක් පමණම ලංකාපුර රාජධානිය හා අනුරාධපුර රාජධානිය ලෙසින් පාලනය කළේ ඉන්දීය ජාතික සම්භවයක් ඇති රජවරුන්ය. ඔවුන් ඉන්දියාවෙන් පැමිණි බමුණු ආගම් හා දේව ආගම් ඇදහූ, ජෛන ධර්මය දැන සිටි පිරිසකි. මේ අය කිසිසේත්ම බුද්ධ ධර්මය පිළිබඳව නම් දැනසිටියේම නැත. නමුත් මේ වනවිටත් හෙළ දීපයේ නැගෙනහිර කඳුරට හා රුහුණේ අතිවිශාල බහුතරයක් නිර්මල බුද්ධ ධර්මය තේරුම්ගත් උගත් වියත් නියම බෞද්ධයින් විය. මිහිඳු හිමියන් බුද්ධ ධර්මය ඉගෙන ගත්තේත් මගඵල ලැබූයේත් දේවහෙළයේදීය. ඒ රජගල රජගහනුවර පිහිටි බෞද්ධ විශ්වවිද්‍යාලයෙනි.

ත්‍රිපිටකයේ සඳහන් බ්‍රහ්මජාල සූත්‍රය දේශනා කළේත්, ලීවේත් මේ හෙළබිමේදීය. බුදු පියාණන් වහන්සේ ජන්බුද්දීපයේ (දේවහෙළයේ) උපත ලැබූ කාලය වනවිට බ්‍රාහ්මණ ආගම් තදින්ම ජන්බුද්දීපය තුළ මුල් බැසගෙන තිබුණ බව බ්‍රහ්මජාල සූත්‍රයෙන් පැහැදිලි වෙයි. මේ බ්‍රාහ්මණ ආගම් ඇදහූ පරිබ්‍රාජකයින්, බ්‍රාහ්මණයින්, නිගන්ඨයින්, තීර්තකයින් ආදීන් ජෛන හා වේද ආගම් ඇදහූ පිරිස් හෙළ බිම තුළත් භාරත දේශයෙත් එකල වාසය කළහ. බුදුපියාණන් වහන්සේ බුද්ධ ධර්මය දේශනා කර එදා ඇදහූ බමුණු ආගම් සියල්ල හරයක් නැති නිවනක් නැති, තාවකාලික සුවයක් ලබන ඇදහිලි බව පෙන්වාදීමේ ප්‍රතිඵලයක් ලෙසින් එදා හෙළබිමේ දේවහෙළයෙහි ඇදහූ බමුණු ආගම් බොහොමයක්ම නැතිවී යටපත්ව ගියහ. නමුත් ඉන්දියාවේ බමුණු ආගම් අද තවමත් ජීවමානවම අදහමින් පවත්වා ගෙන යන්නේ එහි බුද්ධ ධර්මය නොපැවති නිසාවෙනි. බුද්ධ ධර්මයෙන් පෙන්වා වදාළ විමුක්ති මාර්ගය ප්‍රායෝගිකවත් යුගනද්ධවත් අනුගමනය කරන්නට නොදත් ආගම් අදහන සමාජයක බ්‍රාහ්මණ ආගම්, දේව ආගම් යටපත් වන්නේ නැත. මේ අනුව මහායානික අදහස් ඉන්දියාවේ දී උපත ලැබීය.

නිර්මල බුද්ධ ධර්මය දේවහෙළය ජන්බුද්දීපය පුරාම පැතිර ගියත් යක්ෂ හෙළය වූ උතුරු කුරු දීපයේ බුදුදහම එසේ ව්‍යාප්ත වූයේ නැත. නමුත් රිටිගල හා මානාකන්ද, ඉසින්බැස්සගල වැනි ප්‍රදේශවල විසූ යක්ෂ ගෝත්‍රිකයන් බුදුදහම දැනසිටි බව යක්ෂ ගෝත්‍රිකයන්ගේ බුදුදහම ගැන කරුණු ලියූ පොතපත්වල පැහැදිලිව සඳහන් බව මානෑවේ විමලරතන හිමියන් ද පෙන්වා දෙයි.

මිහිඳු හිමියන් උතුරුකුරු දීපයේ යක්ෂ හෙළයේ ලංකාපුර රාජධානියට පැමිණියේ මෙවන් පසුබිමක් පැවති කාලයකය. මිහිඳු හිමියන් අම්පාර රජගල (රජගහනුවර) ජීවත්වූ කාලයේ හෙළ බස මෙන්ම, මාගධී බස ද මනා කොට ඉගෙනගෙන සිටි බව පැහැදිලි වෙයි. අනුරාධපුර රාජධානියට පැමිණි දිනයේ පටන්ම යක්ෂ හෙළයේ ජනතාවටත්, ඉන්දීය සම්භවයක් ඇති දේවානම්පියතිස්ස රජු ඇතුළු රජ පවුලේ උදවියටත් දේශනා කළ සූත්‍ර ධර්‍ම පාලි මාගධී බසින් දේශනා කර හෙළ බසින් අර්ථ, ධර්‍ම, නිරුක්ති, පටිසම්භිදා පහදා දුන් බව මහා වංශයේම සඳහන් වෙයි.

මිහිඳු හිමියන් අනුරාධපුරයට පැමිණෙන්නට පෙර එහි නිගන්ථයින් ද වාසය කළ බවත් පණ්ඩුකාභය රජු ජෝතිය හා කුම්භාණ්ඩ නමැති නිගන්ථයින් වෙනුවෙන් ආවාසයක් තනවා පූජා කළ බවත් මහාවංශයේම සඳහන් වෙයි. ඒවාගේම ජෝතිය නමැති නිගන්ථයාට පූජා කළ භූමියෙහිම ගිරි නම් නිගන්ථයෙක් ද ආවාසයක් තනාගෙන ජීවත් වූ බවත් පසුකළෙක වලගම්බා රජු මේ ගිරි නම් නිගන්ථයාගේ ආවාස කඩා බිඳ විනාශ කර එතැනම අභයගිරිය සකස් කර වෛතුල්‍යවාදී මහණුන්ට එය පූජා කළ බවත් මහාවංශයේම සඳහන් වෙයි. මේ අනුව මිහිඳු හිමියන් උතුරු කුරු දීපයට-අනුරාධපුරයට පැමිණෙන්නට පෙරත් මේ ප්‍රදේශයේ බමුණන්, නිගන්ථයින්, පරිබ්‍රාජකයින් වාසය කළ බවත් ජනතාව ඒ ආගම් ඇදහූ බවත් පැහැදිලි වෙයි.

බෝසත්තුමා - ගෞතම සිද්ධාර්ථ කුමාරයා උපන්නේ ශාක්‍ය රට කපිලවස්තු පුරයේය. මෙය කිඹුල්වත්පුරය ලෙසින් ද ත්‍රිපිටකයේත් මහාවංශයේත් සඳහන් වෙයි. ශාක්‍ය පරපුර හා එහි ඉතිහාසය පිළිබඳව මහාවංශය දිගු විස්තරයක්

ඉදිරිපත් කරයි. ඔක්කාක රජ පරපුරෙන් පැවතගෙන එන මේ සාක්‍ය රජ දරුවන් සුද්ධෝදන රජු දක්වාම ඉතිහාසය එහි ලියා ඇත. සුද්ධෝදන රජු ගේ සොහොයුරිය වූ " අමිතා" කුරු රට රජ කළ "සමන" රජු සමඟ විවාහ වූ බවත් එහිම සඳහන් කරයි. මහාවංශය හා දීපවංශය යන පාලි පරිවර්තන දෙකෙහිම මේ කරුණු ඉතාමත් පැහැදිලිව සටහන් කර ඇත. මහාවංශයේ හා දීපවංශයේ එන සියලු ඓතිහාසික නම්, ගම්, රටවල්, ස්ථාන, පුද්ගලයින් මෙන්ම රජ පරපුරවල් ද මේ රටේම සිවුහෙළයේම - ස්ථාන හා පුද්ගලයින් මිස වෙනත් රටක ඉතිහාසයත් ලියා තැබුවේ නැත. නමුත් මහාවංශය පරිවර්තනය කළ ඉන්දීය ජාතිකයින් මේ සියලු නම්, ගම්, ස්ථාන මේ සිවුහෙළයෙන් බැහැරව භාවිතා කළ දේ බව පෙන්වන්නට උත්සාහ දරූ බව නම් පැහැදිලිව පෙනෙන්නට ඇත. පාලි මහාවංශය ඉංග්‍රීසියට පරිවර්තනය කළ සුදු ජාතිකයින් ද මේ වරද යළි යළිත් කරමින් ඉතිහාසය විකෘති කළහ.

එදා කිඹුල්වත්පුරය-කපිලවස්තුපුරය පිහිටියේ දේවහෙළයේය. ජන්බුද්දීපය යනු දේවහෙළයට භාවිතා කළ තවත් නමකි. බුදුන් ජන්මය ලබන දීපය යන අර්ථයෙන් ජන්බුද්දීපය යැයි එය නම් කළහ. සියලු බුදුවරුන් උපත ලබන්නේත් බුද්ධ ධර්මය ජීවමානව පවතින්නේත් ජම්බුද්දීපයේය. එදා කපිලවස්තුපුරය-කිඹුල්වත්පුරය පිහිටි ස්ථානය අද වනවිට දිඹුලාගල ලෙසින් හඳුන්වන තැනයි. මාදුරු ඔය, වැලිකන්ද, සේරුවාවිල, සෝමාවතිය සිට වාකරෙයි දක්වා නැගෙනහිර මහමුහුද තෙක් ද මහවැලි ගඟ දිගේ මහියංගනය දක්වා ද විශාල ප්‍රදේශයක් එදා ශාක්‍ය රාජධානියට අයත් විය. මහවැලි ගඟෙන් උතුරේ පිහිටියේ කෝසල රාජ්‍යයයි. එය ද දේවහෙළයටම අයත් රාජධානියකි. එහි අගනුවර වූයේ සැවැත්නුවරයි. අද

රිටිගලට නැගෙනහිර ප්‍රදේශයේ කන්තලේ දක්වාම ප්‍රදේශය තුළ මේ විශාල නගරය එදා පිහිටා තිබුණි. සැවැත්නුවර හරහා විශාල ගංගාවක් එදා ගලාගෙන ගිය අතර අද එය යාන් ඔය, හුරුලු ඔය නමින් හඳුන්වන කෝකිලායි කලපුවෙන් මුහුදට වැටෙන විශාල ගංගාවකි. මේ ගංගාව පටන්ගන්නේ මාතලේ කඳු වැටියෙනි. මේ ගඟ අසබඩ පිහිටි රමණීය වැලිතලා සහිත බිමක සියලු බුදුවරුන් බුද්ධත්වයට පත්වන ඒ මධ්‍යමංඩලය පිහිටා තිබෙන බව අරිය පරියේසන සූත්‍රයෙන් ද පෙන්වා දෙයි. අද තවමත් මේ ගඟ ගලා ගියත්, එදා මහා පරාක්‍රමබාහු රජතුමා මේ ගඟ හරවා ඇලහැර යන තැනින් එහි ජලය පොළොන්නරුවට හරවා යැවූ පසුව මේ විශාල ගංගාව අද තිබෙන තත්ත්වයේ කුඩා ගඟක් විය.

බෝසත්තුමා බුද්ධත්වයට පත්වීම හා ඒ සම්බන්ධ සියලු සිද්ධීන් මහාවංශයේත් ත්‍රිපිටකයේත් සඳහන් වේ. පාතරාසී සූත්‍රයේත්, අරියපරියේෂණ සූත්‍රයේ හා තවත් බොහෝ තැන්වලත් නම් ගම් සහිතවම මේ බව සඳහන් කර ඇත. මේ සියල්ලම එදා මේ හෙළබිමේ පිහිටි ස්ථානයන්ය. මෙවන් ස්ථාන අද වනවිට වෙන වෙන නම් වලින් හඳුන්වන්නේ කාලයාගේ විපරිනාමය අනුව නම් ගම් ද වෙනස්වීමෙනි. මේ කිසිවක් ඉන්දියාවට සම්බන්ධ තැන් හෝ දේවල් නොවේ. ඒ සියල්ලම ලංකාවේ දී හෙළබිමේදී ලියූ අතීත පොත්පත්වල, කඩඉම් පොත්වල, වංශකථාවල පමණක්ම සඳහන් වෙයි.

ගෞතම ශාක්‍ය මුනීන්ද්‍රයන් වහන්සේ බුද්ධත්වයට පත් වූ පසු "මහමුණි" යන නමින් ද හැඳින්වීය. එදා ජෛන ''මුනි'' වරුන් පිළිබඳව මහජනයා දැන සිටි බැවින් ගෞතම බුදුන් වහන්සේට "මහමුණි" යන ගෞරවාන්විත නම භාවිතා

කළහ. ගෞතම බුදුන් වහන්සේ බුද්ධත්වයට පත්වීමෙන් පසුව පස්වග මහණුන් සොයා ගිය ගමනේදී හිරිවඩුන්න බෝධීන් වහන්සේ පිහිටි තැන සිට උතුර බලා යන ගමන් මාර්ගය නේරංජනා ගඟ දිගේ වැටී තිබුණු වෙළඳ බඩු ප්‍රවාහනය කළ මාර්ගයකි. හිරිවඩුන්නෙන් උතුරට අද ඇත්තේ මාමිනියා කෝරළයයි. "මහමුණි" ආ තැන යන අර්ථයෙන් අද "මාමිනියා කෝරළය" යැයි හඳුන්වයි. ඊළඟට ඇත්තේ "බුදුන් උන්න ගමයි." වාහල්කඩ දක්වාම මේ ගමන්මග එදා නේරංජනා ගඟ දිගේම පහළට ගමන් කළ මාර්ගයකි. තපස්සු භල්ලුක වෙළඳුන් මුණගැසුනේ ද මේ ගමන් මාර්ගයේදීය. මේ සියල්ල ත්‍රිපිටකයේ පැහැදිලිව සටහන් වන නම් ගම්ය.

ගෞතම ශාක්‍යමුනීන්ද්‍රයන් වහන්සේව එදා "සිරි" යන ගෞරව නාමයෙන් ද පොදු මහජනතාවත්, රජ සිටුවරුත් හඳුන්වන්නට පටන්ගත්හ. මේ අනුව ගෞතම බුදුන්ට සම්බන්ධ සියලු දේ, සියලු තැන්, "සිරි" යන්න මුලට යොදා නම් කළහ. "සිරිදෙස්ම", "සිරි සද්ධර්මය", "සිරි මහබෝ", සිරිපතුල, සිරිමලුව, සිරි දළදා, සිරිහඬු, සිරියාය හා "සිරිවැඩඋන්න" යනාදී නම් එදා මේ හෙළබිමේ ජීවත් වූ මහජනයා අතර ජනප්‍රිය විය. "සිරිවැඩඋන්න" යන නම භාවිතා කළේ බෝසත් තුමා එදා උතුම් බුද්ධත්වයට පත්වූ රමණීය භූමියටයි. කල්යත්ම මේ නම ව්‍යවහාරයෙන් "සිරිවැඩඋන්න" යන්න හිරිවඩුන්න බවට පත්විය. ගෞතම බුදුන් වහන්සේගේ කෙස් මිටක් තැන්පත් කර සෑදූ සෑය එදා සිරිහඬු සෑය නම් විය. හඬු යනු කෙස් වලට මාගධී බසින් යෙදුනු නාමයයි. අද සිරිහඬු සෑය නම ව්‍යවහාරයෙන් ගිරිහඬු සෑය බවට පත්විය.

පණ්ඩුකාභය රජු උතුරුකුරු දීපයේ අනුරපුරයේ රජ කළේ ක්‍රි.පූ. 394-307 කාලයේදීය. මේ මිහිඳු හිමියන් ලංකාපුරයට (අනුරපුරයට) වැඩම කරන්නට වසර 130 කට පමණ පෙර යුගයකය. බුදු පියාණන් වහන්සේගේ පිරිනිවීමෙන් වසර 100 කට පමණ පසුවය. පඬුවස්දෙව් රජු ශාක්‍ය වංශයෙන්, ජන්බුද්දීපයෙන්, එනම් දේවහෙළයෙන් භද්දකච්චායනා නමැති ශාක්‍ය කුමරියන් කැන්දාගෙනවිත් සරණපාවාගත් බව ඉතිහාස පොත්වල සඳහන් වෙයි. මේ භද්දකච්චායනා කුමරිය හා පරිවාර පිරිස කැඳවාගෙන ආවේ ඉන්දියාවෙන් හෝ භාරත දේශයෙන් හෝ යැයි කොතැනකවත් සඳහන්ව නැත. මේ හෙළබිමේම දේවහෙළය නම් වූ කොටසෙහි රජකළ ශාක්‍ය රජපෙළපතින් කපිලවස්තුපුරයෙහි සිට අනුරාධපුරයට මේ කුමරිය ඇතුලු පිරිස කැඳවාගෙන ආහ. ඒ ජන්බුද්වීපයේ සිට ලංකා පුරයටය. මේ භද්දකච්චායනා කුමරියත් සමඟ පැමිණි ඇගේ පරිවාර පිරිස අතර සිවුරු පොරවාගත් පබ්බජ්ජා නම් (nuns) මෙහෙන පිරිසකුත් සිටි බව මහාවංශය කියයි. මේ භද්දකච්චායනා ගෞතම බුදුපියාණන් වහන්සේගේ මුල් භූමිය වූ කිඹුල්වත්පුර සිට පැමිණි ශාක්‍ය රජ පවුලකින් පැවත එන පිරිසක් වූහ. මේ සියලු දෙනා දිඹුලාගල (වර්තමාන) ප්‍රදේශයේ සිට අනුරාධපුර ප්‍රදේශයට කැඳවාගෙන ගිය බව මෙයින් මනාව පැහැදිලිය.

ජන්බුද්දීපය යන්න අතීතයේ කවදාවත්ම ඉන්දියාවට හෝ භාරතයේ කිසිම කොටසකට හෝ භාවිතා කළ නමක් නොවේ. නමුත් සිවුහෙළය නමින් සඳහන් කළ මේ අපේ රටට එක්තරා යුගයක එහි කොටසකට ජන්බුද්දීපය යන නම භාවිතා කළ බවට බොහෝ ලිඛිත හා සම්මත සාක්ෂි ගෙනහැර දක්විය හැකිය.

ජන්බුද්දීපය කඩඉම් පොත, ත්‍රී සිංහලේ කඩඉම් පොතේ එන ජන්බුද්දීප වර්ණනාව අදටත් කාටත් දැක බලාගත හැකි මූලික සාක්ෂීන්ය. හෙළබිමේ දී ලේඛනගත කළ ත්‍රිපිටකයේ සංයුක්ත නිකායේ පස්වැනි කොටසේ එන ජන්බුද්දීප පෙයියාලය, ගංගා පෙයියාලය සූත්‍ර වලද ජන්බුද්දීපයේ ගංගා පහක් ගැන සඳහන් වෙයි. මේ ගංගාවල් පහම පෙරදිගට, නැගෙනහිරට ගලාගිය, නැගෙනහිරට බරවූ, නැගෙනහිර මුහුදට ගලා බසින ගංගා පහක් ගැන සංයුක්ත නිකායෙහි උපමා වශයෙන් දක්වයි. මේ හෙළබිමේ නැගෙනහිර ප්‍රදේශයේ එවැනි ගංගා පහක් අදත් නැගෙනහිරට ගලාගොස් නැගෙනහිරින් මුහුදට ගලා බසී. ගල්ඔය, හැඩඔය, කුඹුක්කන් ගඟ, මැණික් ගඟ හා කිරිඳි ඔය යන ගංගාවන් පහම මේ ලෙස නැගෙනහිරින් මුහුදට ගලා බසී. ඉංදියාව නැමති රටේ නැගෙනහිරින් මුහුදය ගලා බසින එකම ගංගාවක්වත් නැත.

මේ සිවුහෙළයේ එදා හෙළදීප සතරක්ම තිබිණි. ජන්බුද්දීප, උතුරුකුරු දීප, අපරගොයානය හා පූර්වවිදේහය යනු මේ සිවුහෙළයයි. ගෞතම බුදු පියාණන් වහන්සේ බුද්ධත්වයට පත්වූයේත්, උපත ලැබුවේත්, ධර්මය දේශනා කළේත්, පිරිනිවන් පා වදාළේත් ජන්බුද්දීපය නම් වූ හෙළදීපයේයි. මෙහි එදා වාසය කළ ජනතාව දේව නැමැති ගෝත්‍රයකට අයත් විය. දේව ගෝත්‍රයට අයත් හෙළබිමේ වාසය කළ ජනතාව ද නැවත රාජ්‍යයන් වශයෙන් බෙදුනි. කෝසල රට, මගධ රට, ශාක්‍ය රාජ්‍යධානිය, අංගරට, මල්ලව රට, වජ්ජි රාජ්‍යය, කුරුරට, දෙව්දහ රාජධානිය මේ ආදී වශයෙන් ත්‍රිපිටකයේ සඳහන් මහාවංශයේ සඳහන්, සියලු රටවල්, නම් ගම් මේ හෙළදීපය තුළ එදා භාවිතා කළ නම් ගම් මිස ඉන්දියාවේ රටවල් නොවේ. ඉන්දියාව

හෝ වෙනත් හෙළ දීපවලින් පිට දේශයක් එදා සඳහන් කළේ පරදේශ වශයෙනි. පූජාවලියේත් මේ පිට රටවල් පරදේශ ලෙසින් හඳුන්වා ඇත.

මේ අතරම දේව හෙළයට - ජන්බුද්දීපයට අමතරව මේ රටේම උතුරු කුරු දීපයේ යක්ෂ ගෝත්‍රිකයින්ගේ ලංකාපුර රාජධානිය හා සිරිවස්තුපුර රාජධානිය යැයි රාජ්‍යයන් පැවතුණි. නාග ගෝත්‍රිකයින් වාසය කළ කුඩා රාජ්‍යයන් ගණනාවක්ම මුහුදුබඩ ප්‍රදේශවලත් රට මැදත් පිහිටා තිබිණි. නාග ගෝත්‍රිකයින් වූයේ රැකියාවෙන් වෙළහෙළදාම් කළ පිරිස හා මුහුදේ නාවික කටයුතු, ධීවර කටයුතු කළ පිරිසයි.

එදා දේවහෙලයේ උපන් ගෞතම බුදු පියාණන් වහන්සේ දේවහෙළයෙන් පිටත වූ ලංකාපුර රාජධානියට වැඩම කළ අවස්ථා තුනක් මහාවංශයේ සඳහන් වෙයි. මේ ලංකාපුර රාජධානියට පැමිණි අවස්ථා තුනම මහාවංශයේ හා දීපවංශයේ සඳහන් වෙයි. මේ කිසිම අවස්ථාවක ඉන්දියාවේ හෝ වෙනත් සිවුහෙළයෙන් පිටත පරදේශයක සිට ලංකාපුර රාජධානියට පැමිණි බවක් සඳහන් නොවේ. මිහිඳු හිමියන් ද ලංකාපුර රාජධානියට ධර්මදූත මෙහෙවර සඳහා පැමිණියේ දේවහෙළයේ ජන්බුද්දීපයේ ජීවත් වූ කාලයේදී ය. සංඝමිත්තා මෙහෙණිය ද ජය ශ්‍රී බෝ අංකුරය වඩම්මාගෙන අනුරාධපුරයට පැමිණියේ ජන්බුද්දීපය නම් දේව හෙළයේ සිටය. භද්දකච්චායනා කුමරිය ලංකාපුර රාජධානියට කැඳවාගෙන ආවේ ද දේවහෙළයේ ශාක්‍යයන්ගේ රටෙනි.

ගෞතම බුදු පියාණන් වහන්සේ බුද්ධත්වයට පත්වී මාස 6 ක් ගතවූ තැන පළමුවර ට බුදුන් වහන්සේ මහියංගණයට වැඩම කළහ. මහියංගනය යනු එදා මහා

අංගණයයි. රටවල් පහකම රජවරු හා ජනතාව පොදු කටයුතු සඳහා එකට එකතු වූ පොදු බිම මහා අංගනයයි. කෝසල රට, කුරු රට, මගධ රට, ශාක්‍ය රට මෙන්ම යක්ෂ ගෝත්‍රිකයන්ගේ උතුරු කුරු දීපයට ද මේ මහා අංගනය පොදු බිමක් විය. පොදු තැනක් විය. මේ රටවල් පහේම පාලකයින් මේ ආකාරයට පනවා සම්මත කරගත්, පොදු මහා අංගනයක් අතීතයේ පැවතුණි. කල්යත්ම උතුරුකුරු දීපයේ බලවත් වූ යක්ෂ ගෝත්‍රිකයින් කාටත් පොදුව පැවති මේ මහා අංගණය ආක්‍රමණය කර අනෙක් අයව පළවා හැර තම තනි අයිතියට මහා අංගනය පත්කර ගත්හ. මේ අවස්ථාවේ ගෞතම බුදු පියාණන් වහන්සේ මේ අසාධාරණය දැක කරුණු පහදා දී යක්ෂ ගෝත්‍රිකයින්ට "සිරි දෙස්ම" දේශනා කර ඒ මහාඅංගණය අයිතිකරගෙන සිටි යක්ෂ ගෝත්‍රිකයින්ව උතුරු කුරු දීපයේම කොටසක් වූ "ගිරි" දීපයට-ලග්ගල කඳු රටට ආපසු පසුබසින ලෙසින් දැන්වීය. මෙය පළවා හැරීමක් නොවේ. ඉර්ද්‍රිප්‍රාතිහාර්ය පා දමනය කිරීමක් ලෙසින් සාහිත්‍යකරුවන් පසුකලෙක මෙය සඳහන් කළහ. දහම් කරුණු කියා දී සාමය ආරක්ෂාකර ගන්නටත්, රටවල් පහටම පොදු මහා අංගණය නැවත පොදු තැනක් බවට පත් කරන්නටත්, කළ යහපත් දැහැමි ක්‍රියාවක් මිස බලය යොදා ඉර්ධිප්‍රාතහාර්ය පා කළ සංදර්ශනයක් නොවේ. ගෞතම මුනිඳුන් ඉන්දියාවේ සිට ලංකාවට පැමිණ කළ ක්‍රියාවක් ලෙසින් පසුකලෙක ලියූ සමන්තපාසාදිකාවෙහි මේ සංසිද්ධිය පෙන්වා දුන්නත් එය මේ හෙළබිමේම එක් කොටසක සිට පැමිණ කළ දෙයක් මිස පරදේසයක සිට පැමිණ කළ දෙයක් නොවේ.

විජය රජුගේ ලංකාගමනය ගැන කියන මහාවංශයට හා සමන්තපාසාදිකාවට අනුව බුද්ධ පරිනිර්වාණය සිදුවූයේ

ක්‍රි.පූ. 483 දී පමණය. ඊට වසර හතළිස් හතරකට (44) පමණ පෙර ගෞතම බුදුපියාණන් වහන්සේ මහියංගණයට වැඩම කළහ. ඒ ක්‍රි.පූර්ව 527 දීය. මේ යුගය වනවිට මහා භාරතයේ රාජ්‍ය බලය මුළුමනින්ම අල්ලාගෙන මුළු උතුරු ඉන්දියාවම යටත් කරගෙන පාලනය කළේ පර්ෂියන් අධිරාජයන් විසිනි. අද ඉරානය නමින් හඳුන්වන පර්ෂියන් අධිරාජ්‍යය ක්‍රි.පූ. 580 සිට ක්‍රි.පූ. 427 දක්වාම මුළු ඉන්දියාවම යටත් කරගෙන පාලනය කළ බව පර්ෂියන් ඉතිහාස වාර්තාවන් කියයි. අන්තර්ජාලයේ මේ පිළිබඳව සියලු විස්තර අද කාටත් කියවා ගන්නට හැකි අයුරින් සටහන් කර ඇත. ඩේරිස් රජවරුන් තුන්දෙනෙකු ද, සයිරස් ද ග්‍රේට් යන බලවත්ම අධිරාජයෙකු ද මේ යුගය තුළ ඉන්දියාව පාලනය කළහ. මේ අනුව ගෞතම බුදු පියාණන් ඉන්දියාවේ උපත ලබා ඉන්දියාවේ දී බුදුවූයේ නම් තම රට පර්ෂියන් පාලනයෙන් මුදාගන්නට කටයුතු කරනු මිස පිටරටක සුළු කරුණක් නිසා දුර බැහැර ගෙවා මහියංගණයට එන්නට කිසිම හේතුවක් නැත. පර්ෂියන් පාලනයෙන් පසු ඉන්දියාව ග්‍රීක පාලනයට යටත් විය. මහා ඇලෙක්සැන්ඩර් රජු පර්ෂියන් රජුන් පලවා හැර මුළු භාරත දේශයම ග්‍රීක අධිරාජ්‍යයට ඈඳාගත්හ. මේ තොරතුරුවල ඇත්තේ ඉතාම පැහැදිලි ඉතිහාසයකි. ග්‍රීක පාලනය ද වසර 80 ක තරම් කාලයක් පැවති අතර අශෝක රජුගේ පියා වන චන්ද්‍රගුප්ත රජු ග්‍රීකයන් පළවා හැර ඉන්දියාවේ බටහිර කොටසේ රජවිය. චන්ද්‍රගුප්ත රජුට පුතුන් 80 ක්ම සිටි බව ඉන්දීය ඉතිහාස පොත්වල සටහන් වී ඇත. චන්ද්‍රගුප්ත රජුගේ කාලයේ මේ පුතුන් 80 දෙනාම ඉන්දියාවේ විවිධ ප්‍රදේශවල බලය අල්ලාගෙන රජකම් කළහ. චන්ද්‍රගුප්ත රජුගේ වැඩිමහල්ම පුත්‍රයා වූයේ කළිඟු රට පාලනය කළ කාලිංග රජුය. ඉන්පසු අශෝක කුමාරයා

උතුරු ඉන්දියාවේ බලයට පත්ව එදා රජකළ තම සහෝදරයින් 80 දෙනෙක්වම ඝාතනය කරමින් රට අල්ලාගෙන උතුරු ඉන්දියාව එක්සේසත් කළහ. මේ අනුව ගෞතම බුදු පියාණන් ඉන්දියාවේ හෝ භාරත දේශයේ හෝ කොතැනකවත් උපත ලැබුවේවත්, ජීවත්වූයේවත් නැත. එසේ වූවා නම් ඒ කාලයේ ලියූ පොත්පත්වල යන්තමින් හෝ මේ නම් ගම් සඳහන් වන්නට තිබිණි. ගෞතම බුදුන් හා ඒ සම්බන්ධ සියලු තොරතුරු විස්තර සඳහන් වන්නේ මේ හෙළබිමේ ආගමික ඉතිහාසය ලියූ පොත්වලය. දීපවංශය, මහාවංශය හා පසුව ලියූ සමන්තපාසාදිකාවේ මේ පිළිබඳ විස්තර දක්වා ඇත. එදා ජම්බුද්දීපය යනුවෙන් සඳහන් කළේ මේ හෙළදීප හතරෙන් එකකටය. ඒ මිස ඉන්දියාව ජන්බුද්දීප නමින් අතීතයේ කිසිදාක නම්කර නොතිබිණි.

පසුකලෙක ඉන්දියාව හා හෙළබිම යන රටවල් දෙකම එකම පාලනයකට ගත් ඉංග්‍රීසීන් විසින් නොදත කළ වැරදි ප්‍රකාශයන් නිසා ජම්බුද්දීපය ඉන්දියාවේ පිහිටි කොටසක් බවට ඉංග්‍රීසීන් ප්‍රකාශ කළහ. එය වැරදීමකි. ඒ වරද අද වනතෙක් නිවැරදි කරගන්නට බැරිවීම අපේම කරුමයකි. අපේ උරුමය බුදුදහමයි. බුද්ධදීපයයි. එදා ඉංග්‍රීසීන් විසින් කරන ලද මේ වැරදි විග්‍රහය විශ්වාස කළ භක්තියෙන් පිළිගත් අපේ රටේ කලුසුද්දන් කොටසක් මේ වරදම තවදුරටත් මුළු මහත් ජනතාව වෙතම වැරදි ආකාරයට උගන්වා දැනුවත් කර මිනිසුන් නොමග යැවූහ. ඉතිහාසය විකෘති කළහ. දරුවන්ට වැරදි ඉතිහාසයක් උගන්වන්නටත් ඉතිහාසය පොත් ලියූ අය මේ වැරදි මතය සනාථ වන පරිදිම යළි යළිත් පොත්පත් ලිවීමත් අපේ උරුමය අනුන්ට පාවා දීමක් ලෙසින් ද හැඳින්විය හැකිය. ධර්මපාලතුමා

හෙළබිම අතහැර ඉන්දියාවට ගියේ අපේ උරුමය හොයන්නට නොවන බව නම් දැන් පැහැදිලිය.

ජම්බුද්දීපය නම් වූ දේවහෙළයේ වැඩ වසමින්, ධර්මය දේශනා කරමින් කල්ගෙවූ බුදුපියාණන් වහන්සේ බුද්ධත්වයෙන් පස්වන වසෙහි නැවතත් ලංකාපුර රාජධානියක් වූ නාග හෙළයට දෙවන වරටත් වැඩම කළේ නා රජවරුන් දෙදෙනෙකු (චූලෝදර-මහෝදර) අතර ඇතිවන්නට ගිය යුද්ධයක් වළක්වාලීමටය. මෙහිදී ද බොහෝ නාග ගෝත්‍රික හෙළ ජනතාවට බුදුදහමේ ඇති වටිනාකම තේරුම් ගන්නට හැකි වූ බවද මහාවංශය පෙන්වා දෙයි. චූලෝදර-මහෝදර යනු මෙරට රජ කළ නාග ගෝත්‍රික රජවරුන් දෙදෙනෙකු මිස නාගයින් දෙදෙනෙක් නොවේ. එදා බුදු පියාණන් වැඩසිටි යුගයේ මේ සිවුහෙළයේ මුහුදට ආසන්න බොහෝ ප්‍රදේශවල නාග ගෝත්‍රික රජවරුන්ගේ පාලනයක් පැවතුණි. චූලෝදර මහාඋදර-මණිඅක්ඛිත, මුචලින්ද මේ ආදී සියලු නම් වලින් ත්‍රිපිටකයේත්, මහාවංශයේත් සඳහන් වන්නේ මේ රටේම එදා ජීවත් වූ ගෝත්‍රික පිරිසකි. ඔවුන්ගේ රැකියාව අනුව ඔවුන් නාග ගෝත්‍රිකයින් විය. ඔවුන් නාගයින් ලෙස පසුකලෙක සාහිත්‍යකරුවන් මවා පෙන්වූයේ වැරදීමකිනි. මේ ලෙසින් දෙවන වරටත් ලංකාපුර රාජධානියට වැඩම කිරීම මේ හෙළදීප හතර ඇතුළතම සිදුවූ ගමනක් මිස හෙළබිමෙන් පිටත පරදේශයක සිට මෙරටට පැමිණීමක් නම් නොවේ.

මින් වසර තුනකට පසු බුද්ධත්වයෙන් අටවැනි වසරේ නැවතත් නාග ගෝත්‍රික මණිඅක්ඛිත නා රජුගේ ආරාධනයෙන් ලංකාපුර රාජධානියට පැමිණි අතර ඒ ගමනේ දී සමන රජු තනා නිමකළ දිවාගුහාවේ වස් වැසූ

සේක. මේ ගමනේ දී සමනල කඳු මුදුනේ සිරිපතුල පිහිටුවීම ද සමන රජුගේ ආරාධනයෙන් සිදුකරන ලදී. එවකට කුරුරට පාලනය කළ සමන මහ රජු බුදුපියාණන් වහන්සේගෙන් වස්කාලය පුරාම ධර්මය ශ්‍රවණය කර, ධර්මය සාකච්ඡා කර, සෝතාපත්ති ඵලයට පත්වීම ද සිදුවිය. මේවා හෙළබිම තුළදීම එදා සිදුවූ සිදුවීම් මිස මේවා කිසිවක් පරදේශයකට, පිටරටකට සම්බන්ධ වූ පිටරට සිට පැමිණි බුදු කෙනෙක් කළ කී දේවල් නොවේ. හෙළ බිමේම උපන්, හෙළබිමේම දහම් දෙසූ, හෙළබිමේදීම පිරිනිවන් පා වදාළ අපේම ගෞතම බුදුපියාණන් වහන්සේ මේ රට තුළදීම කළ කී දේවල්ය. මේවා ඉන්දියාවට පැවරුවේ ඉංග්‍රීසි පාලන කාලය තුළ පරිපාලන කටයුතු කළ සුදුජාතික ලේඛකයින් විසිනි. අපේ කළු සුද්දන් ඒවා හිස්මුදුනින් පිළිගත්හ.

මෙම ලංකාපුර රාජධානිවලට බුදුපියාණන් වහන්සේ තුන්වරක් වැඩම කළ බව සඳහන් වන්නේ බුදු පියාණන් පිරිනිවී වසර 915 කට පසුව ලියූ සමන්තපාසාදිකාවේත් ඒ ආසන්න කාලයකදීම පාලි අටුවාවක් ලෙසින් ලියූ මහාවංශ පාලි අටුවාවේත් දීපවංශ පාලි අටුවාවේත්ය. මේ පොත් තුනම පාලියෙන් ලියුවේ ඉන්දියාවෙන් පැමිණි කතුවරුන් විසිනි.

ඊට පෙර ලේඛනගත කළ ත්‍රිපිටකයේ මේ සම්බන්ධව කිසිදු සටහන් හෝ සූත්‍ර ධර්මයක සඳහන් කිරීමක් හෝ නැත. එදා මේ හෙළදීප හතරම එකම දීපයක් තුළ තිබූ රාජ්‍යයන් ගණනාවකින් සමන්විත වූ අතර මේ දීප හතර තුළ පා ගමනින්ම ගමන් කළ බුදු පියාණන් වහන්සේට හෝ දහම පෙළගස්වා වනපොත් කරගෙන කටින්කට පවත්වාගෙන ආ හෙළ බුද්ධ ශ්‍රාවකයින්ට හෝ මේ හෙළ

රටවල් පරදේශ ලෙසින් ලියා තබන්නට උවමනා වූයේ නැත. නමුත් පසුව අටුවා ලියූ පොත් පරිවර්තනය කළ අයට මෙය වෙනස් ආකාරයකට මවා පෙන්වීමේ අවශ්‍යතාවයක් තිබූ බවත් පැහැදිලිය. නමුත් පරම සත්‍යය නම් මේ සියලු සිද්ධීන් සිදුවූයේ මේ සිවුහෙළය තුළදීම බවය.

ප්‍රාග් ඓතිහාසික යුගයේ, බුදු පියාණන් මේ හෙළබිමේ වැඩසිටි යුගයේ, කුරුරට ලෙසින් ත්‍රිපිටකයේ විවිධ තැන්වල සඳහන් වන රට සමන මහ රජු විසින් පාලනය කළ දේව හෙළයට අයත් රටකි. අද කෑගල්ල, රත්නපුර, කුරුවිට, සමනල කන්ද හා බදුල්ල දිස්ත්‍රික්කයෙන් කොටසක් ද එදා මේ කුරු රටට අයත්විය. සමනල කන්දේ සිට මහියංගනය දක්වා බදුල්ල දිස්ත්‍රික්කය හා නුවරඑළිය දිස්ත්‍රික්කයට අයත් බිම් තීරුවක් ද කුරු රටට අයිති විය. අද "එරත්න" නමින් නම් කර ඇති කුරුවිටට ආසන්න කඳුකර ප්‍රදේශයේ සමන මහ රජුගේ එක් මාලිගාවක් පිහිටා තිබුණි. මේ අතරම ගෞතම බුදු පියාණන්ගෙන් කේසධාතූන් වහන්සේලා ලබාගෙන සමන මහ රජු විසින් ස්තූපයක් ගොඩනැගුවේත් තමන්ගේ පාලන ප්‍රදේශයට අයිති වූ පොදු මහා අංගනයේය. අද එය මහියංගන චෛත්‍යය නමින් නම් කර ඇත. කේසධාතූන් තැන්පත් කර නිර්මාණය කළ මේ චෛත්‍යය අඩි 4 ක් 5 ක් තරම් උස ඇති ශෛලමය චෛත්‍යයකි. බුදුපියාණන් වහන්සේගේ පිරිනිවීමෙන් පසුව ධාතූන් වහන්සේලා අට කොටසකට බෙදීමේ දී අකුධාතුව ලබාගත් සරභූ නම් අරහතුන් වහන්සේ විසින් තමන් ලබාගත් ධාතූන් වහන්සේ මහියංගණ චෛත්‍යයේ තැන්පත් කර දෙවන වරටත් මහියංගණ චෛත්‍යය ගොඩනැගුහ. මේ මහියංගණ චෛත්‍යය නැවත වසර 500 කට පමණ පසුව

වසභ රජු විසින් ද, ඒ අතරතුර කාලයේ දුටුගැමුණු මහ රජු විසින් ද ගඩොල් යොදාගෙන නැවත ගොඩනැගූහ. අද පවතින තත්ත්වයට මේ මහියංගණ චෛත්‍යය ප්‍රතිසංස්කරණය කළේ ඩඩ්ලි සේනානායක අගමැතිතුමාගේ පාලන කාලය තුළදීය.

මිහිඳු හිමියන්ගේ අනුරාධපුර ගමනට පෙරත් මහියංගණයේ ජනතාව ස්ථූප තනවා ඊට වැඳුම් පිදුම් කළ බවටත්, බුදු දහම ප්‍රචලිතව ජන්බුද්දීපයේ පැවති බවටත්, මෙය ලිඛිත සාක්ෂියකි. ලංකාවේදීම ලියූ මහාවංශයේත්, දීපවංශයේත් පසුව ලියූ පාලි අටුවාවක් වන සමන්තපාසාදිකාවෙත් මේ මහියංගණ ස්ථූපය ගැන ලිඛිතවම සඳහන් වෙයි. තපස්සු භල්ලුක වෙළඳුන්ට ලබාදුන් කේශධාතූන් (සිරිහඬු) තැන්පත් කර සිරියාගේ තුඩා චෛත්‍යයක් තනවා වැඳුම් පිදුම් කළේත් මිහිඳු හිමියන් පැමිණෙන්නට පෙරය.

# 16. අභයගිරිය - වෛතුල්‍යවාදය හා මහායාන බුද්ධාගම

බුද්ධ පරිනිර්වාණයෙන් පසු දසවස්තුක වජ්ජි භික්ෂූන්ව සාසනයෙන් පිටමංකර රටෙන් ද පිටුවහල් කළත් ඔවුන් ඉන්දියාවට පලාගොස් ක්‍රමයෙන් ඉන්දියාව තුළ මහා සාංඝික නිකාය යන නමින් අලුත් බුද්ධාගමක් පිහිටුවා ගත්හ. බමුණු මත නොඉවසූ බොහෝ ඉන්දියානුවන් හා ඉන්දීය රජවරුන් ද මේ මහාසාංඝික නිකාය සමඟ එකතු විය. අශෝක රජු දවස සර්වස්තිවාදයක් මතු වූ අතර මේ යුගය වනවිට මහා සාංඝිකයින් ඉන්දියාවේ දී තවත් බලවත් විය. මහා සාංඝණිකයින්ට අමතරව ඉන්දියාවේ දී බ්‍රාහ්මණ ආගම් ද පදනම් කොටගෙන අශෝක රාජ යුගයේත් ඊට පසු කණිෂ්ක රාජ යුගයේදීත් වෛතුල්‍යවාදීන්, තන්ත්‍රයාණිකයින් ඉන්දියාවේ බලවත්ව මුල් බැසගත්හ. වෛතුල්‍යවාදී ශ්‍රමණයන් වෛතුල්‍ය පිටකයක් ද නිර්මාණය කරගෙන එය බුද්ධ දේශනාව යැයි දේශනා කළහ. වොහාරික තිස්ස (ක්‍රි.ව. 269-291) රාජ යුගයේ දී අභයගිරියට ඇතුළු වූ වෛතුල්‍යවාදීන් වෙනම ධර්මයක් දේශනා කරන්නට ද විය. එදා මහාවිහාරික ථේරවාදීන් මේ වෛතුල්‍යවාදීන් හා ඒ දහම හලාහල විෂ මෙන් බැහැර කළහ. නමුත් වළගම්බා රජ දවස (ක්‍රි.පූ. 29-17) පටන්ම අභයගිරිවාදීන් ඉන්දියාවෙන් පැමිණි නොයෙක් ආකාරයෙන් බුද්ධ සාසනයට නොගැලපෙන දේව ආගම් හා බ්‍රහ්ම ආගම් සංකල්ප හිස් මුදුනින්ම පිළිගෙන ඒවා අදහන්නට පටන් ගත්හ.

ගජබාහු රජුගේ පාලන කාලයේ (ක්‍රි.ව. 174-196) සිදුවූ සිද්ධියක් ද දේව ආගම් සංකල්ප හෙළදිව තුළ ප්‍රචලිත වන්නට මුල් විය. වසර හතකට පෙර බලයෙන්ම සොලී

රටට ගෙනගිය හෙළදිව වැසියන් දොළොස්දහසක් වලගම්බා රජු විසින් ආපසු හෙළදිවට ගෙනවුත් රටේ නොයෙක් තැන්වල පදිංචි කරවූ බව මහාවංශය කියයි. හින්දු, බ්‍රාහ්මණ හෝ දේව ආගම් මේ වන විට ඉන්දියාවේ අදහමින් පැවතිණි. වසර හතක් වැනි දිගු කාලයක් මෙවන් ආගම් ඇදහූ අය හෙළබිමට ආපසු පැමිණි පසුත් බොහෝ කොට දේව ආගම් අදහන පුරුද්ද අතහැරියේ නැත. එය අභයගිරිවාසීන්ට බලවත් ශ්‍රාවක පිරිසක් එකතු වන්නටත් හේතුවක් විය.

වලගම්බා රජු දවස පටන් වොහාරික තිස්ස රජු (269-291) දක්වා වසර තුන්සියයක් පමණ දිගු කාලයක් රජ කළ රජවරුන් මහා විහාරයටත්, අභයගිරියටත් යන දෙකටම සමසේ දානමාන පුද පූජා මෙන්ම ගරු සැලකිලි ද දැක්වීය. වොහාරික තිස්ස රජුගේ රාජ්‍ය පාලනය පැවති යුගය වනවිට ඉන්දියාවේදීත් බලවත් වූ අභයගිරිවාසීන් වෙනම සූත්‍ර හා පිටක කොටසක් ඉදිරිපත් කරමින් මහා විහාරිකයින් මෙතෙක් පණ මෙන් රැකගෙන ආරක්ෂා කරගෙන පැමිණි ත්‍රිපිටකය බුද්ධ භාෂිතය නොවන බව ප්‍රසිද්ධියේ ප්‍රකාශ කළහ. මේ වනවිට සද්ධර්ම පුංඩරික සූත්‍රය, ලංකාවතාර සූත්‍රය ආදී ඉන්දියාවේ දී සංස්කෘත භාෂාවෙන් ලියූ සූත්‍ර වෛතුල්‍යවාදී පිටක පොත් ලෙසින් භාවිතයේ පැවතුණි. අශෝක රජු දවස පටන්ම ඉන්දීය බමුණන් මේ වෛතුල්‍යවාදී මත බුදු දහමට ඇතුළු කරන්නට ඉන්දියාවේ දී උත්සාහ දැරූ බවත් මහාවංශය පෙන්වා දෙයි. මහාවිහාරික භික්ෂූන් මේ වෛතුල්‍යවාදී මත හා පිටකයන් හලාහල විෂ මෙන් බැහැර කළහ. අන්ධ භක්තියෙන් හා විශ්වාසයෙන් දේව ආගම් ඇදහූ සමහරක් හෙළදිව වැසියන් මෙම වෛතුල්‍යවාදී මත පිළිගත්හ. මේ අනුව අභයගිරිය හා මහා විහාරය අතර ධර්මය පිළිබඳව මතවාදයන්

ගොඩනැගුණි. දෙපිරිසම තම තමන් නියම නිර්මල බුද්ධ ධර්මය දේශනා කරන්නේ යැයි රජවරුන්ටත් ඒත්තු ගන්වන්නට ක්‍රියා කළහ. මේ අනුව වොහාරික තිස්ස රජු විසින් උගත් වියත් ධර්මධර පුද්ගලයෙක් හැටියට පිළිගත් "කපිල" නම් ඇමතිවරයා මෙම ප්‍රශ්නය විසඳාගන්නට පත් කරන ලදී.

සියලු කරුණු අධ්‍යයනය කර මනාකොට හදාරා කපිල ඇමතිවරයා විසින් තීරණය කර, රජතුමාට දන්වූයේ අභයගිරිවාසීන් ඉදිරිපත්කළ වෛතුල්‍යවාදී පිටකය හා මතවාදයන් නිර්මල බුදුදහම නොවන බවත් මහාවිහාරික ත්‍රිපිටකය හා උගන්වීම් නිර්මල බුදුදහම බවත්ය. මෙහි ප්‍රතිඵලයක් ලෙස රාජ නියෝග අනුව අභයගිරිවාසීන් පිළිගත් වෛතුල්‍යවාදී මත ඇතුළත් සියලු පොත්පත් ගිනිබත්කර විනාශකර දමා භාවිතය ද තහනම් කරන ලදී. පොත්පත් විනාශ කළත් මේ වනවිටත් මුල්බැසගෙන පැවති වැඳුම්, පිදුම්, යැදුම්, පැතුම් සමාජයෙන් සහමුලින්ම ඉවත් කරන්නට නොහැකි වූ අතර, අභයගිරිවාසීන් ද ප්‍රසිද්ධියේ නැතත් හොර රහසේම මහායානික වෛතුල්‍යවාදී මත මහජනතාව අතරට තවදුරටත් ගෙන ගියහ.

ගෝඨාභය රජු දවස වනවිට නැවතත් අභයගිරිවාසීන් රාජ්‍ය අනුග්‍රහය ද ලැබ බලවත් වී මහායානික හා වෛතුල්‍යවාදී මතයන් මහජනයා අතරේ පතුරුවා හරින්නට සමත් විය. අභයගිරියේ බලපෑම් නිසා මහාවිහාරිකයින් දුර්වල වූ අතර, මහායානික අදහස් නිසා හුදී ජනයා වැඳුම්, පිදුම්, යැදුම්, පැතුම් වලට ඇබ්බැහි වන්නට පටන්ගත්හ. මේ අනුව බුද්ධ පරිනිර්වාණයෙන් වසර 795 කට පමණ පසුව පළමුවන වරට වෙනම භික්ෂු නිකායක් හෙළබිමේ බිහිවූ බවත් නිකාය සංග්‍රහය පෙන්වා දෙයි. මෙහිදීද

අභයගිරියට පක්ෂව කටයුතු කළ අය හා මහාවිහාරයට පක්‍ෂව කටයුතු කළ අය අතරේ වාදභේද ඇතිවීම නිසා ගෝඨාභය රජුගේ රාජ නියෝග මත නැවත වරක් අභයගිරියට පක්ෂපාතී වූ "සාගලියා" නම් නිකායට අයත් භික්ෂූන් 60 නමක් රටින් පිටුවහල් කර දැමූ බවත් මහාවංශයේ හා නිකාය සංග්‍රහයෙහි ද සඳහන් වේ.

හෙළබිම තුළ පැවති නිර්මල බුද්ධ ධර්මයට මේ කරුණු කාරණා ඉතාමත්ම නරක ආකාරයට බලපාන්නට තවදුරටත් කරුණු සකස් විය. ගෝඨාභය රජු විසින් පිටුවහල් කරන ලද මෙම භික්ෂූන් කාවේරි පටුනෙන් එහා පිහිටි පතංජලි ආශ්‍රමය වෙත ගොස් තමන්ට සිදුවූ සියලු කරදර ගැන එහි සිටි ශ්‍රමණ බමුණන්ට ප්‍රකාශ කරන ලදී. මේ අතරම මෙසේ පිටුවහල් කරන ලද භික්ෂූන්ගෙන් කෙනෙකු වෙස්වලාගෙන පැමිණ රජ ගෙදර රජ කුමාරවරුන්ට ශිල්ප සාස්ත්‍ර උගන්වන්නට ද භාරගත්හ. මේ අනුව සංඝමිත්ත නම් වූ අභයගිරියට පක්ෂපාත බමුනා ජෙට්ඨතිස්ස හා මහාසේන යන රජකුමාරවරුන්ට අකුරු කරවන අටියෙන් ඔවුන් සමඟ එක්විය.

ගෝඨාභය රජුගේ ඇවෑමෙන් ජෙට්ඨතිස්ස රජ වූ අතර ඔහු මහාවිහාරිකයින්ට පක්ෂපාත වූ නිසා සංඝමිත්ත පතංජලි ආශ්‍රමයට (ඉන්දියාවේ කාවේරි වලින් එපිටට) පැනගියහ. මහානාම නමැති ජෙට්ඨතිස්ස රජුගේ බාල සොහොයුරා රජ කරවන්නට කුමන්ත්‍රණයක් ද දියත් කළහ. මේ අනුව ක්‍රි. ව. 334 දී මහාසේන අනුරාධපුරයේ රජ විය. සංඝමිත්ත බමුණා රජුගේ පුරෝහිතයා විය. මහාසේන රජු අභයගිරියට පක්ෂපාතව මහා විහාරයට විවිධාකාර තහංචි පැනවීය. බුද්ධඝෝෂගේ පැමිණීමත් මහානාම හිමිගේ පැමිණීමත් විශුද්ධි මාර්ගය ඇතුළු අටුවා පොත් පාලියට

පරිවර්තනය කිරීමත් මේ කාලය අතරතුර සිදුවිය. අවසානයේ මහානාම රජුගේ උදව් ඇතිව අභයගිරියට පක්ෂපාතී වූ මහායානිකයින් මහා විහාරයට ගිනිතබා පොත්ගුලම ගින්බත් කර මහාවිහාරිකයින් පලවා හැරිය බව මහාවංශයෙහි පැහැදිලිවම සඳහන් වෙයි.

මේ පරම සත්‍යය අපේ බෞද්ධ යැයි කියාගන්නා වර්තමාන නායකයින්ට නොපෙනෙන්නේ මොන කරුමය නිසාද යන්න අද විමසිය යුතු මූලිකම ප්‍රශ්නයයි.

# 17. බුද්ධාගම හා බුදු දහම යනු එකක් නොව දෙකකි.

බුද්ධාගමේ කොටස් දෙකකි. ජනප්‍රිය භක්තිවාදී ඇදහිලි හා විශ්වාස මත පදනම් වූ මහායාන බුද්ධාගමත්, ගුප්තවාදී, ආශ්චර්ය හා ඉර්ධි ප්‍රාතිහාර්යයන් පාන්නට උපකාරක ධ්‍යාන හා අභිඥා ලැබෙන බුද්ධාගම් කොටසකුත්ය. නමුත් බුදුදහම බුද්ධධර්මය යනු මේ දෙකම නොවේ. එය මාර්ග චර්යාවකි.

ශාන්තිදේව ලියූ බෝධිචරියාවතාරය (සංස්කෘත) හා මංජු ශ්‍රී ලියූ පාරමිතා සූත්‍ර වලින් බෝසත් බව ප්‍රචලිත විය. මේ ලැබූ මිනිස් ජීවිත කාලය තුළදීම සසර දුක් නිමා කර නිවන් දැකීම සඳහා කටයුතු කිරීම නොව බෝසත් පෙරුම් පුරමින් කාමලෝකවල සුගති ලෝකවල පංචස්කන්ද උපාධානයෙන් ලබන ආමිස සුවයම දිගින් දිගටම ලැබීමේ වටිනාකම පෙන්වූ මහායාන බුදු දහම බෝසත් පෙරුම් පිරීමම හුවා දැක්වීය.

බමුණන් බහුලව විසූ එකල බමුණන් ගෙන් සාමාන්‍ය පොදු ජනතාවට ලැබුණු ලෞකික සහනය හා ප්‍රයෝජනයන් බෞද්ධ යෝගාවචරයන්ගෙන් නොලැබුණු නිසා මහජනතාව ධර්ම මාර්ගයෙන් ඈත් වන්නට පටන් ගත්හ. මෙය වටහාගත් පසුකාලීන බුද්ධ ශ්‍රාවකයින් මහජනාව අතරට පැමිණෙන්නට හා ඔවුන්ට යම් යම් ගැටලුවලදී ලෞකික වශයෙන් උපකාර කරන්නට බහුලවම පෙළඹීමේ ප්‍රතිඵලය වූයේ පිරිත් කියා සෙත් පැතීම, බෝධි පූජා පැවැත්වීම, දේවාල ඉදිකර කන්නලව් යාඥා කිරීම වැනි හින්දු සිරිත් විරිත් බෞද්ධයා අතර ප්‍රචලිත වීමයි.

බුදුන් වහන්සේ යථාභූත ඥානයෙන් දැකගත්, පසක් කොට දැකගත්, පරමාර්ථ ධර්මය (අනිච්ච, දුක්ඛ, අනත්ත) කෙලෙස් සහිත ලෝවැසියාට පහසුවෙන් අවබෝධ කරගත නොහැකි වනු ඇතැයි ගෞතම බුදු පියාණන් ද එදා මුලින් සිතූ බව ත්‍රිපිටකයේ සඳහන් වේ. (අරියපරියේෂණ සූත්‍රය) පසුකාලීනව බුද්ධාගමක් නිර්මාණය කරගත් අවදියේ දී නිවන් දැකීම වෙනුවට බෝසත් පෙරුම් පිරීමට මිනිසුන්ව පෙළඹවීම වඩාත් වැදගත් යැයි බොහෝදෙනා සිතන්නට පුරුදු විය. එහි ප්‍රතිඵලය වූයේ අතපත් නිවන අතහැර නොපෙනෙන බුද්ධත්වයක් පතා බෝසත් පාරමිතා පුරමින් කාලය ගත කිරීමයි. මිනිසුන්ට විමුක්තිය අතහැර ලෞකික සැපතම ප්‍රාර්ථනා කිරීමට පුරුදු පුහුණු කිරීමය.

1. මේ ජීවිත කාලය (මිනිස් ජීවිතය) තුළදීම සංසාර දුක කෙළවර කර නිවන් දැකීමට වඩා බෝසත් පෙරුම් පුරමින් කාමලෝකවල සුගතිලෝකවල කාලය ගත කිරීම මහායාන ධර්මයේ ඉතා උතුම් කොට සැලකුහ. බෝසත් සැපය, පාරමිතා පිරීම, අරහත් බුද්ධත්වයට පත්වීමට වඩා බොහෝ වටිනා දෙයක් ලෙසින් මහායාන ආගමේ හුවා දැක්වීය.

2. සිදුහත් කුමරුන් සාරාසංඛ්‍ය කල්පයක් පෙරුම් පුරා අවසානයේ බුදු බවට පත්වූ බව මහායාන බෞද්ධ පොතපතෙහි, සාහිත්‍යයෙහි මිසක් ත්‍රිපිටකයේ කොතැනකවත් දක්වා ඇති දෙයක් නොවේ.

3. පාරමිතා පිරීමක් පිළිබඳව මුල් බුදුසමය තුළ කුමන හෝ ත්‍රිපිටක ග්‍රන්ථයක සටහන්ව නැති දෙයකි. පසුකලක ලියූ බුද්ධවංශ දේශනාවෙහි මෙය දැකිය හැක.

4. පැවිදි වීමට අපේක්ෂා කරන අයට හා කුඩා සාමණේරයින්ට පැවිදි දිවියේ දී දැනගත යුතු හා දායකයින් කෙරෙහි පැවතිය යුතු පිළිවෙත් කට පාඩම් කරගැනීම සඳහා මුල්ම යුගයේ පිරිත් කටපාඩම් කරගත්හ. පසුව ගිහි සමාජයට තාවකාලිකව මානසික සහනයක් හා ශාන්තියක් ලබාදීමේ චේතනාවෙන් ද, ගිහියන්ගේ සිත් ගැනීම සඳහා ද, පැවිදි අය සමාජ සම්මත අවස්ථාවල පිරිත් දේශනා කළහ. දරුවෙකු ලැබෙන්නට යනවිට අංගුලිමාල පිරිත, රෝගී වූ විට ගිරිමානන්ද පිරිත, ව්‍යසනයක දී රතන සූත්‍රය මන්ත්‍ර වශයෙන් සජ්ජායනා කර හුදීජන සිත් සතන් තාවකාලිකව සැනසීමට කටයුතු කළේ පසු කාලයක දීය.

5. ඉන්දියාවේ කණිෂ්ක රාජ යුගයේ, අශ්වඝෝෂ, නාගාර්ජුන පාද, දින්නාග, වසුබන්ධු, ධර්මකීර්ති, අසංග වැනි මහායානික බෞද්ධ භික්ෂූන් බුදු දහමට විවිධ අර්ථකථනයන් ඉදිරිපත් කර හින්දු දහම හා බුද්ධාගම අතර තිබූ පරස්පරය අඩු කළහ. බමුණු මතවලට ඒ අනුව පහර දුන්හ. මේ අනුව බෝසත් සංකල්පය පාරමිතා පිරීම අනන්ත බෝසත්වරුන් සහ බෝසත් බිරියන් ද මහායාන ආගමෙහි නිර්මාණය කරගත්හ.

මේ අනුව නිවන් මග වැසී යටපත් විය. බෝසත් පෙරුම්පුරන ප්‍රාර්ථනා කරමින් පිංකම් කරන සමාජයක් ඉන්දියාවේ මෙන්ම සියලු පෙරදිග රටවල ද බිහිවිය. ඒ අනුව වෛතුල්‍යවාදය, තන්ත්‍රයානය, නීලපටබැදි නිකාය වැනි ඉගැන්වීම් ඉන්දියාවේ බලවත්විය. ඒවායේ බලපෑම හෙළබිමට ද වේගයෙන් ගලා ආවේය.

## සද්ධර්ම පුණ්ඩරික සූත්‍රයෙන් පෙන්වූ මහායාන දහම

1. තුන්තරා බෝධියක් වෙනුවට ලොව්තුරා බුද්ධ යානය පමණක්ම මහායාන ආගමේ පෙන්වීය. ඒ සඳහා බෝධිසත්ව චරියාව පූරණය කරගැනීමේ ඒකායන පරමාර්ථයෙන් සියලු පිළිවෙත් පිරිය යුතුය යන්න තේමාව විය.

2. නිවන් දකින්නට නම් සියලු දෙනාම බෝසත්වරු විය යුතුමය. ස්ත්‍රී පුරුෂ භේදයක් නොමැතිවම සියලු දෙනාම බෝසත් පෙරුම් පිරිය යුතුය. ස්ත්‍රීන් ද මේ සඳහාම පළමුව පුරුෂ ආත්මයක් පතා කටයුතු කළ යුතුය. දෙවනුව බෝසත් පෙරුම් පිරිය යුතු විය.

3. විපස්සනා ධූරය හා අනුපස්සනා වැඩීම, යෝග ක්‍රියාවන් හෝ භාවනා කිරීම කිසිසේත්ම මහායාන ආගමේ නිර්දේශ කර නැති අතර බුද්ධ ප්‍රතිමා තැනීම, වැඳීම, ස්තූප තැනීම හා වැඳීම, ධර්ම පුස්තක කියවීම, පිරිත් සජ්ජායනා කිරීම හා වැඳීම, පුද පූජා වලට මූලික තැනක් දී ඇත. අද අප බුද්ධාගමේ කරන්නේ මේ දෙවල්ලය.

4. අවලෝකිතේශ්වර බෝසත්තුමා ගෞතම බුදුන්ටත් වඩා මහායාන ආගමේ ඉහළින් පිළිගනී. එසේ වර්ණනා කරන අතර මෙයින් බුද්ධ සංකල්පය අභිබවා බෝසත් සංකල්පය මතු කරන්නට උත්සාහ ගත් බව පෙනේ.

5. පරම ධර්ම සත්‍යයන් වූ චතුරාර්ය සත්‍යයත්, සම්මා දිට්ඨිය හා ශ්‍රද්ධාව අභිබවා භක්තිය හා විශ්වාසය මහායාන ආගමෙහි ඉදිරියට පැමිණියේය. ප්‍රඥාවන්ත නොවූ, ශ්‍රද්ධාවක් ගැන නොදන්නා කෙනෙකුන්ව

භක්තියෙන් මුලාකර අන්ධ විශ්වාස වලින් කොටු කරගන්නට දරූ තැතක් මෙහි පැහැදිලිවම පෙනේ.

6. ථේරවාදයේ ඉගැන්වූ චතුසච්ච බුද්ධ වීම, අරහත් ශ්‍රාවක බෝධිය හෝ සෝතාපන්න ඵලයට පත්වීම, සම්මාදිට්ඨියට පත්වීම මහායානයේ ඉගැන්වීම්වලට අනුව පහත් දේවල්ය. ඵල රහිත ප්‍රයත්නයන්ය. ඒ අනුව සියල්ලෝම ලොව්තුරා බුද්ධත්වය පතා බෝසත් පෙරුම් පිරිය යුතුමය. ශ්‍රාවකයෙකුට සෝතාපන්න ආදී මගඵල ලබා අරහත් ඵලයට පත්වීමට යත්න දැරීම ඉතාම පහත්කොට පෙන්වන්නට මහායාන ආගමෙහි බොහෝ තැන්වල දී උත්සාහ දරා ඇත.

7. මුල් බුදු සමයේ එන මානව ගති ලක්ෂණ හා ගුණධර්ම සහිත වූ ගෞතම බුදුන් වහන්සේට අතිමානුෂීය වූ හා විශ්වකර්මයෙකු, බලවතෙකු බවටත් පත් කරන්නට ද වෑයම් දරා ඇත.

8. ගමින් ගමට පයින්ම ගමන් කරමින් මිනිසුන්ට ධර්මය දේශනා කළ ගෞතම මුනීන්ද්‍රයන් වහන්සේව ඉර්ධි ප්‍රාතිහාර්ය පාමින් දේවත්වයෙන් යුතුව ගිජුකුළු පව්වේ එක තැනක සිට දේශනා පවත්වන කෙනෙකු බවට පත් කරන්නටත් උත්සාහ දරා ඇත.

9. හුදී ජනයාගේ හිත ඇද ගැනීමට හා භක්තියෙන් විශ්වාස කරන්නට සුදුසු වන පරිදි බුද්ධ චරිතයක් එහිදී ගොඩනගන්නට උත්සාහ දරා ඇත.

# 18. මහායාන බුද්ධාගම හා බුදු දහම

පරිමුච්චති දුක්ඛස්මාති වදාමි යනු බුදු දහමයි. පූර්ණ වශයෙන්ම දුක් පැවැත්මෙන් මිදී, සංසාර දුකෙන් මිදී නිදහස්ව විමුක්තිය ක්ෂාත්ෂාත් කරගත යුතුය යන්න මුල් බුදු දහමේ මූලික හරයයි. එය මිනිසා තමා විසින්ම, තමා සඳහාම, තමන්ම කැපවී කරගත යුතු දෙයකි. බාහිර බලවේගයකින් එයට උදව් උපකාර ලබාගත නොහැකිය. මේ අනුව මෙය ස්වාක්ඛාත මාර්ගයකි. "ස්වාක්ඛාතෝ භගවතෝ ධම්මෝ සන්දිට්ඨිකෝ" කීවේ මේ නිසාය. මේ "සං" දැකගත යුතු වන්නේ තමන් තුළින්මය. වත (ගත හිත) භගකර බෙදා බලා හේතුඵල දහමට බහා ගලපා බැලීමෙන්මය. මේ භගවත් දහම අවක්ඛාත හෝ දුරක්ඛාත දහමක් නොවේ. ශ්‍රාවකයින්ට හෝ අනුගාමිකයින්ට හෝ බුදුහාමුදුරුවන්ට ළංවී හෝ බුදු හාමුදුරුවන්ගේ සිවුරුපොට අල්ලාගෙන හෝ නිවනට යා නොහැකිය. මේ මඟ තමන්ම දැක තමන්ම මාර්ග චරියාව භාවිතයට ගැනීමෙන්ම අත්විඳ ගත යුතු මගකි. හැම තැනකම ඇත්තේ අභ්‍යාස කිරීම නැත්නම් භාවිතයට ගැනීමයි. දහම් මග භාවිතයට නොගත් කෙනෙකු උගතෙකු හෝ පන්ඩිතයෙක් විය හැකිය. එය ග්‍රන්ථ ධූරය පිරීමයි. එය බුදු දහමෙන් පෙන්වූ නිවන් මග බවට පත්වන්නේ අභ්‍යාස කිරීමෙන් පමණමය. ඒ අභ්‍යාස කිරීම යනු භාවිතයට ගැනීමයි. එයම භාවනාවයි. ශ්‍රද්ධාව හා භක්තිය යනු දෙකක් බව මෙහිදී පැහැදිලිවම තේරුම්ගත යුතුය. එය ආගමේ දී එකකි.

සියලුම ආගම්වල පදනම වන්නේ භක්තිය හා විශ්වාසයයි. බුද්ධාගමේත් ශාස්තෘන් වහන්සේ පිළිබඳව විශ්වාසයක් හා භක්තියක් ඇති කරවන්නට බෞද්ධ

සාහිත්‍යයක් හා ඉතිහාසයක් ගොඩ නැගූහ. නිර්මාණය කළහ. නමුත් මුල් බුදු දහම, නිර්මල බුදුදහම, භක්තිය හෝ අන්ධ විශ්වාසයන් මත පදනම් වූවක් නොවේ. බුදුදහම දැනීම තුළින් ලබාගත් දැකීමක් පසක්කොට දැකීමක් පදනම වී ඇත. "යෝ පටිච්ච සමුප්පාදං පස්සති සෝ ධම්මං පස්සති" යනු බුදුදහමයි. හේතුඵල දහමට බහා ගලපා බලා වරදින් මිදී නිදහස් වීමත්, වැරදි හේතුව දැක එය නිවැරදි කරගන්නට ක්‍රියාත්මක වීමත්, ණය විනයට සසඳා බලා, ණය වෙන දේ නොකිරීමත්, ණයෙන් මිදී නිදහස් වෙන ආකාරයට ක්‍රියා කිරීමත් බුද්ධ ධර්මයයි. හේතුඵල දහමයි. වැරදි හේතුවෙන් මිදී හරි හේතුව කිරීමත්, ණය නොවී ණයෙන් මිදී නිදහස්වන දේ කිරීමත් භාවනාවයි. ඒ බුද්ධ ධර්මයයි.

මුල් බුදුසමය තුළ සර්ව බලධාරි දෙවියෙකු හෝ විශ්වකර්මයෙකු හෝ ඊශ්වරයෙකු හෝ මවා පෙන්වා නැත. බුදුන් වහන්සේට සබ්බඤ්ඤුත යන නම යොදා ඇත්තේ හේතුඵල දහමට බහා ගලපා බලා සියල්ල පිළිබඳව ධර්මතාවය ප්‍රකාශ කළ හැකි නිසා මිස සියල්ල දන්නා දක්නා නුවණැතියෙක්ය යන අර්ථයෙන් නොවේ. පුබ්බේ නිවාසානුස්සති ඥානය චූතූපපාද ඥානය හා ආසවක්ඛය ඥානය ඇති නිසාවෙනි. (ත්‍රිවිද්‍යා ඥාන)

දෙවියන් නැතැයි බුදුන් වහන්සේ කියා නැත. අංගුත්තර නිකායේ තික නිපාතයෙහි සම්මුති දේව, උප්පත්ති දේව හා විශුද්ධි දේව යැයි තුන් කොටසක්ම ඇති බව පෙන්වා දී ඇත. අද අපි අදහන්නේ සම්මුති දේව කොටසයි.

බුදුරජාණන් වහන්සේට අනුත්තර යන නාමය යොදා භාවිතා කරන්නේ සියලු ආවරණයන්, නිරාවරණය කර ලෝකයෙන්, අඳුරෙන් එතෙර වූ උත්තර වූ යන අර්ථයෙනි.

කම්මාවරණ, ක්ලේශාවරණ, විපාකාවරණ, නෙයියාවරණ යන සියල්ලෙන් එතෙර වූ නිදහස් වූ යන අර්ථයෙනි.

මුල් බුදු දහමට අනුව බුද්ධ චරිතය මානුෂීයත්වයෙන් යුතු වූත් මිනිස් බව නොඉක්මවූත් චරිතයක් වූවත් පසුව එය මිනිසත් බව ඉක්මවූ දේවත්වයක් හා බ්‍රහ්ම සහව්‍යතාවයද ඉක්මවූ චරිතයක් බවටම බෞද්ධ සාහිත්‍යයේ දී හුවා දැක්වීය. ඒ හුදී ජන සිත්වල විශ්වාසය හා භක්තිය ඇති කරවීම සඳහාය.

බුද්ධවංශ අටුවාවෙන් හා අනාගතවංශ දේශනාවෙහි බුදුන් වහන්සේව අතිමානුෂීයත්වයට පත්කර වර්ණනා කර ඇත. මිනිසුන්ගේ සිත්වල භක්තිය ඇති කරවා විශ්වාසය ගොඩනැංවීමට උපකාර වන සේ මේ සියල්ලම පසුකාලීනව නිර්මාණය කරගෙන ආගම් සංකල්ප හැටියට ලියා දැක්වීය. පිරිනිවී වදාළ බුදුන් වහන්සේව ජීවමාන තත්ත්වයට පත් කරවන්නට මේ සියල්ල පසුකාලීනව ලියා දැක්වූහ. බුදු සරණ පැතුයේ මේ පදනමේ සිටය.

බෝසත් පෙරුම් පිරීමක් හෝ බෝසත්වරුන් පිළිබඳව හෝ විග්‍රහයක් මුල් බුදු දහමේ ශේෂයක්වත් සඳහන්ව නැත. මේ සියල්ල බුදුන්ගේ පිරිනිවීමෙන් පසුව මහායානිකයින් විසින් නිර්මාණය කරගත් සංකල්පයෝය.

සද්ධර්ම පුණ්ඩරික සූත්‍රයේ නිර්මාණය කර පෙන්වූ බුද්ධ චරිතය පරමාදර්ශීවූත් සංකේතාත්මකවූත් ඓතිහාසික පුද්ගලයෙකුගේ චරිතයක්ම බවට පත්විය. නමුත් ගෞතම බුදුන් වහන්සේ මිනිසෙකු ලෙස උපදී මිනිසෙකු ලෙසින් තේරුම් ගත් පරම සත්‍යය පෙන්වූ සැබෑ මිනිසෙකි.

# 19. බෝසත් පාරමිතා පිරීම හා මහායාන බුද්ධාගම

ලොව්තුරා බුද්ධත්වයට පත්වූ ගෞතම බුදු පියාණන් වහන්සේ කිසිම ආගමක කර්තෘ කෙනෙක් නොවේ. ආගමික නායකයෙකු නොවේ. තමන් වහන්සේ දේශනා කළ ධර්මය පසුකලක දී අදහන ආගම් ලෙසට පරිවර්තනය කරගන්නට ඉඩ ඇති බව දැන එය වළකාලීමට එදා විවිධ දේශනයන් දේශනා කළ බව ද පෙනේ. සතර මහාපදේශ, කාලාම සූත්‍රය, කින්ති සූත්‍රය, සංඝභේධ සූත්‍රය, පඨම ආනන්ද සූත්‍රය මින් කිහිපයකි.

බුදුදහම උපන් ජන්බුද්වීපයෙන් පිටතදී එනම් භාරත දේශයේදීත් බුද්ධ භාෂිතයම ඒ මාගධී පදවැල්ම පදනම් කරගෙන බුදුන් පිරිනිවී වදාළ නොබෝ කලකින්ම මහා සාංඝික නිකාය යන නමින් ආගමක් බිහිවිය.

මුල් බුදුදහමෙන් දේශනා කර වදාළ බොහෝ දේවල් වලට විරුද්ධ වූ මතවාදයන් පසුකාලීනව නිර්මාණය කරගත් මෙම මහා සාංඝික නිකායෙහිත්, මහායාන ධර්මයෙහිත් දැකගත හැකිය. මූලික වශයෙන්ම ථේරවාදය නමින් ද පසුකාලීනව හීනයානය යන නමින් ද මේ හෙළබිමේ දී ආරක්ෂා වී පැවති නිර්මල බුද්ධ ධර්මය හා භාරත දේශයේ දී නිර්මාණය වී හැදී වැඩී සකස් වූ මහායානික ආගමික සංකල්ප යන දෙක අතර බොහෝ පරස්පරතාවයන් ඇති බව පෙන්වා දිය හැකිය. මේ පරස්පරතාවයන් අතුරෙන් පැහැදිලිවම පෙන්වා දිය හැකි කරුණු කිහිපයක් ඔබටත් සිතා බලන්නට මෙහි ලියා දක්වමි.

1. මූලිකවම වෙනසක් හැටියට දැක්විය හැක්කේ මහායාන දහමට අනුව බුදුපියාණන්ගේ පිරිනිවීමෙන් පසුව

අරහත් බුද්ධ බවට - චතුසච්ච බුද්ධ බවට - මගඵල ලැබීමට නොහැකිය යන මහායාන පිළිගැනීමයි. ථේරවාදයේ පිළිගත් මතය අනුව අදටත් දහම් මග නිවැරදිව අනුගමනය කරන අවශ්‍යතා පූරණය කරණ කෙනෙකුට අරහත් ඵලය දක්වාම පත්වීමට, සසර ගමන නිමා කිරීමට අදටත් කිසිදු බාධාවක් නැත යන්නය.

2. මහායාන ආගමෙහි සෝතාපත්ති ආදී මාර්ගයන් හා ඵලයන් පිළිබඳව පිළිනොගත්හ. ථේරවාදී දහමෙහි සද්ධස්ස කුලපුත්තස්ස වීම හා දස්සනේන සම්පන්නවීම, දස්සනීයානං, සංවේජනීයානං යන තත්ත්වයට පත්වීම පැහැදිලිවම විග්‍රහ කර ඇතත් මහායාන ආගමෙහි මෙවැන්නක් පිළි නොගනී.

3. චතුරාර්ය සත්‍යයන් පිළිබඳව හෝ ආර්ය සත්‍යයන් හතර පිළිබඳව හෝ බණ අසා දහම් ඇස පහදා ගැනීමෙන් කෙනෙකුට ලබාගත යුතු නිවැරදි දැක්ම මහායාන බුද්ධාගමෙහි වචනයටම පමණක්ම සීමාවූවකි.

4. මහායාන බුද්ධාගමෙහි සද්ධස්ස කුලපුත්තස්ස වීමක් ගැන කථා නොකරයි. ඒ වෙනුවට භක්තියෙන් නිවන් ප්‍රාර්ථනා කිරීම, යාඥා කිරීම, වැඳුම්, පිදුම්, පැතුම්, යැදුම් පමණක්ම කිරීමෙන් ඉටුකරගත හැකි ඉටුකරගත යුතු දෙයක් නිසාම එය ආගමක් බවට පත්විය.

5. ථේරවාදී දහමෙහි පෙන්වා වදාළ පරිදි "දිට්ඨ ධම්ම වේදනීය" වශයෙන්ම - මේ ජීවිත කාලය තුළදීම- ක්‍රමයෙන් අනුපූරකව සතර මග සතර ඵල ක්ෂාත්ෂාත් කරගැනීමක් මහායාන ආගමේ පිළිනොගනී. ජාත සෝතාපන්න වීමත් මහායානය පිළිනොගනී.

6. මහායාන බුද්ධාගමට අනුව තුන්තරා බෝධියක් නැත. ලොව්තුරා බුද්ධයානය නිවන් දැකිය හැකි එකම යානයයි. එකම මගයි. සියල්ලන්ම ඒ සඳහාම මතු බුද්ධත්වයට පත්වන්නටම බෝසත් පෙරුම් පිරීමම කළයුතු කළහැකි එකම යහපත් ක්‍රියාවයි.

7. ථේරවාදී බුදු දහමට අනුව බෝසත් පෙරුම් පිරීමක් ගැන ත්‍රිපිටක ධර්මයෙහි මුල් බුදු දහමෙහි කිසිදු තැනක සඳහන් වී නැත. මාතුල අලු ලෙනේ දී ග්‍රන්ථාරූඪ කළ ත්‍රිපිටකයේ කිසිදු තැනක බෝසත් පෙරුම් පිරීම හෝ පාරමිතා, දස පාරමිතා, සමතිස් පාරමිතා ගැන හෝ වචනයක්වත් සඳහන්ව නැත. පාරමිතා පිරීම හා ඒ පාරමිතාවල වැදගත්කම පෙන්වා දී ඇත්තේ පොලොන්නරු යුගයේ දී හෝ ඊට පසු කාලයක දී ලියා පල කළ බුද්ධවංශ දේශනාවේ මෙන්ම ඊට සමකාලීනව ලියා පලකළ අනාගත වංශ දේශනාවේදීම පමණි. ඒ දේශනා හෝ පොත්පත් බුද්ධ දේශනාවන් නොවේ. ඒවා මහායාන බලපෑම මත ලියැවුන පසුකාලීන පොත්පත්ය. ඒවා ත්‍රිපිටක ධර්මයට අයත් නොවේ.

8. "මනුස්සත්ත පටිලාභෝ පරම දුල්ලභෝ" යන බුද්ධ වචනය මහායාන බුද්ධාගමේ දී දේවත්ව පටිලාභෝ පරම දුල්ලභෝ යන්නටත් බෝධිසත්ව පටිලාභෝ පරම දුල්ලභෝ යන්නටත් මාරු විය. මේ අනුව මිනිසෙකුව උපන් මේ ජීවිත කාලයම වෙන්කර ගත යුත්තේ දෙව් සැප, බ්‍රහ්ම සැප ප්‍රාර්ථනා කරන්නටත් බෝසත් පෙරුම් පුරන්නටත් මිස නිවන් මගඵල ලබන්නට නම් නොවේ.

9. මේ අනුව මහායාන බුද්ධාගමෙහි මතයට අනුව පින හා කුසලය යන්න එකක්ම බවට පත්විය. කුසල් යන

පදය පවා මහායාන බුද්ධාගමට අනුව අර්ථයක් නැති තේරුමක් නැති පදයක් බවට පත්විය. මහායාන ධර්මයෙහි පින්කම් කිරීමත් මතු ප්‍රාර්ථනා කිරීමත් මිස පින්කමක් කර එය කුසලයක් බවට පත් කරගත යුතුය යන්න පිළිනොගත්හ. ඒ නිසා මිනිසුන්ට පිංකම් කරමින්, ප්‍රාර්ථනා කරමින් මතු උපතක දී ලබන විමුක්තියක් සඳහා පෙළඹවීමක් ඇති කරන්නට පමණක්ම සියලු ආගමික සංකල්පයන් නිර්මාණය විය. මේ බව සද්ධර්ම පුණ්ඩරික සූත්‍රයෙන් මනාව පැහැදිලි වෙයි.

10. මහායාන බුද්ධාගමට අනුව කුසලය යනු කෞසල්‍යය (හැකියාවක්) ලෙසින් පරිවර්තනය කරගෙන එය ද හැකියාවක්, ශක්තියක් යන අර්ථයෙන් ගෙනහැර දක්වා "කිං කුසල ගවේසි" යන බුද්ධ භාෂිතය හා "කිං සච්ච ගවේසී"යන බුද්ධ භාෂිතය මහායාන බුද්ධාගමට නොගැලපෙන්නක් බවටම පෙන්වා දුන්හ. පින හා කුසලය එකක්ම යැයි අද අපේ රටේත් බොහෝ බෞද්ධ යැයි කියාගන්නා උගත් වියත් ගිහි පැවිදි පිරිස ද තර්ක විතර්ක කරන්නේ මේ මහායාන ආගමේ පොත්පත් හෝ ඒ හා සම්බන්ධ අටුවා ටීකා හෝ කියවා ලත් වැරදි දැනුමක් මුල් කරගෙන බව සියලුම බෞද්ධයින් විසින්ම මනාව තේරුම්ගත යුතුය.

11. අද බුද්ධාගමේ මූලිකම කාර්යය වන්නේ සමාජ සේවයට මුල්තැන දීම හා පෙරහැර, පුද පූජා වැනි සංස්කෘතික අංගයන්ට මුල් තැන ලබාදීමයි. මෙවැනි පහත් තත්ත්වයට පත්වූයේ මහායාන බුද්ධාගමේ බලපෑම හේතුකොටගෙනය. මුල් බුදුදහමෙහි වැදගත්කොට සැලකුවේ ආර්ය ගුණ ධර්මයන් හා සංවර සීලයයි. නමුත් පසුකාලීන මහායාන

බුද්ධාගමෙහි මේ සියල්ල වෙනස් විය. අද අපේ සම්මත සාම්ප්‍රදායික පන්සල්වල මුල්තැන ලබා දී ඇතිතේ මිනිසා තුළින් මතු කරගත යුතු මිනිස් ආර්ය ගුණ දහම් හෝ සංවරත්වයට මුල්තැනදීම හෝ නොව සමාජ සම්මත සංස්කෘතිකාංගයන් පවත්වාගෙන යාමත් සමාජ සේවය කිරීමත්ය. එය බුද්ධ ධර්මය නොවේ. නිවන් දැකීම ප්‍රාර්ථනාවක් පමණක්ම වූයේ ද මේ කරුණු මුල්කොටගත් මහායාන බලපෑමෙනි.

12. මුල් බුදුදහමෙහි පෙන්වා දුන් පරිදි ප්‍රඥාව මුල්කොටගත් සීල සමාධි ගුණාංගයන් පූරණය කරගත යුතු වුවත්, මහායානා බුද්ධාගමේ පසුකාලීනව වූ බලපෑම් නිසා මෙම ත්‍රිශික්ෂා වෙනස් කරමින් දාන, සීල, භාවනා බවට පත්විය. නමුත් නිවන් මාර්ගය යනු බණ අසා ලබන සුතමයේ ඥානයෙන් මතුවන ප්‍රඥාවෙන් ආරම්භ විය යුතු බව මුල් බුදුදහම පැහැදිලි කරයි. එය වැඳුම් පිදුම් හෝ යාඥා ප්‍රාර්ථනා කිරීමෙන් ලබාගත හැකි තත්වයක් නොවේ.

13. සත්තිස් (37) බෝධිපාක්ෂික ධර්මයන්, බුද්ධ කාරක ධර්මයන්, සම්පූර්ණ කරගැනීම නිවන් මග ලෙස මුල් බුදුදහමේ පැහැදිලිවම පෙන්වා දුන්නත් මහායාන බුද්ධාගමේ එය වෙනස් කර ධ්‍යාන ලැබීම හා පාරමිතා පිරීම මුල් තැනට පත්විය. ධ්‍යාන ලැබීමේ අවශ්‍යතාවයක් මුල් බුදු දහමෙහි කිසිම තැනක සඳහන්ව නැති අතර, උපචාර සමාධි, අර්පනා සමාධි, පරිකර්ම සමාධි වැනි උපනිෂද් සංකල්ප වලට අදාළ අනාර්ය වූ සමාධි ගැන අද සියලු සම්මත භාවනා මධ්‍යස්ථාවල කියා දෙන්නේ මහායානික මූලධර්ම වලට අනුව යමින්ය. මහායානික බලපෑම නිසාය.

14. විභජ්ජවාදය යන නමින් හැඳින් වූ මුල් බුදු දහම විශ්වාසයෙන් හා භක්තියෙන් අදහන ආගමක් නොවීය. මුල් බුදු දහමෙහි ගත සිත නාමරූප බෙදා, විභංග කර බලා, පරම සත්‍යය යථා පරිදි තේරුම් ගන්නට උපකාර වන පරිදිම දේශනා කළහ. එයම තථාගත දහම විය. ආචික්ඛනා දේශනා, පඤ්ඤ පනා, පට්ඨ පනා, විවරණ, විභජනා, උත්තානිකම්මන්තානි යනු සච්ච විභංග සූත්‍රයේ එන විග්‍රහයයි. මුළු විභංගප්ප්‍රකරණයම පටිසම්භිදා මග්ගප්‍රකරණයම මේ බඹයක් පමණ වූ ගත හිත (නාම රූප) බෙදා බලා එහි යථා තත්ත්වය තේරුම් ගන්නට කරන ලද විග්‍රහයකි. නමුත් මහායාන ආගමෙහි මේ විභජනය කිසිවිටෙකත් වැදගත් කොට මතුකර පෙන්වා දුන්නේ නැත. ඉන්දියාවේ දී උපත ලැබූ මහාසාංඝික නිකායේ ඇදහිල්ල හා විශ්වාසයම, ප්‍රාර්ථනාව හා යාඥාවන්ම වැදගත් කොට මතුකර පෙන්වීය..

15. මහායාන බුද්ධාගමේ අත්පොත ලෙසින් සලකන සද්ධර්ම පුණ්ඩරික සූත්‍රයට අනුව හැම කෙනෙක්ම සංසාර ගමන නිමාකර ගත යුත්තේ ලොව්තුරා බුද්ධත්වයට පත්වීමෙන්ම පමණි. මෙම සූත්‍රයට අනුව සැරියුත් මුගලන් වැනි අග්‍රශ්‍රාවකයින් වහන්සේලා පවා සසර ගමන තවමත් නිමාකර නැත. සැරියුත්, මුගලන්, මහාකාශ්‍යප, ආනන්ද, රාහුල වැනි සියලු අරහතුන් වහන්සේලා ද මතු නැවතත් ලොව්තුරා බුද්ධත්වයට පත්වීමෙන්ම ගමන නිමාකරන බව එහි පැහැදිලිවම සඳහන්ය. සද්ධර්ම පුණ්ඩරික සූත්‍රයට අනුව සැරියුත් මහ තේරුන් වහන්සේත් "පද්මප්‍රභා" නමින් මතු බුදුවන බව සඳහන් කර ඇත. මහා කස්සප අරහතුන් වහන්සේත් මතු "රශ්මි ප්‍රභාස" යන නමින් මතු බුදුවන

බව පෙන්වා දී ඇත. මෙය මුල් බුදුදහමට කිසිසේත්ම නොගැලපෙන ප්‍රකාශනයකි. මුල් බුදුදහම සහමුලින්ම විකෘති කිරීමකි.

16. ථේරවාදී ත්‍රිපිටකයේ බොහෝ සූත්‍රධර්මවල සඳහන් වන ප්‍රඥා විමුක්තිය, විද්‍යා විමුක්තිය අරහත්ඵලයට පත්වීම නිවන් දැකීම ලෙසින් විග්‍රහ කළත් මහායාන බුද්ධාගමේ මේවා නිවන ලෙසින් පිළිනොගනී. නිවන් දැකීම යනු ලොව්තුරා බුද්ධත්වයට පත්වීමම පමණක් බව මහායානික පිළිගැනීමයි.

17. බුද්ධ සාසනයට ඇතුළු වන මහණවන ස්ත්‍රීන් සඳහා පැනවූ අෂ්ඨගරු ධර්ම මුල් ත්‍රිපිටක ධර්මයෙහි නොපෙනෙන අතර මේවා පසුකලෙක ලියූ මාහායාන අටුවාටීකාවල හා පුරුෂාධිපත්‍යය පවත්වාගෙන යන්නටම උත්සාහ කළ මහායාන ධර්මය තුළ පැනවූ නීතිරීති සමූහයක් ලෙසින් ද පෙන්වා දිය හැකිය. මේ මහායාන අදහස අපේ බුද්ධාගමේත් බලවත් ලෙසින්ම මුල් බැසගෙන ඇත.

18. මුල් බුදුදහමට අනුව ලොව්තුරා බුද්ධත්වයට, පසේ බුද්ධත්වයට පත්විය හැක්කේ පිරිමි කෙනෙකුටම පමණි. නමුත් පසුකාලීන මහායාන බුද්ධාගමේ ස්ත්‍රී පක්ෂයේ බෝසත්වරුන් ද බුදුවරුන් ද සිටින බව සද්ධර්ම පුණ්ඩරික සූත්‍රයෙහි සඳහන් වෙයි.

19. මහායාන බුද්ධාගමේ ද වෛතුල්‍යවාදී ත්‍රිපිටකය යන නමින් දේශනාවක් සකස් කරගෙන ඇත. සද්ධර්ම පුණ්ඩරික සූත්‍රය, ලංකාවතාර සූත්‍රය පාරමිතා සූත්‍ර 21 ක් හා ප්‍රඥා පාරමිතා සූත්‍රය ආදී සූත්‍රධර්ම හැට ගණනක් එහි අඩංගු වෙයි. හෙළබිමේ දී ලේඛන ගත කළ, නිර්මල

ත්‍රිපිටකය මහායානිකයින් පිළි නොගනී. වෛතුල්‍යවාදී ත්‍රිපිටකය පමණක්ම පිළිගනී.

20. මුල් බුදුදහමෙහි විමුක්ති මාර්ගය පූරණය කරගන්නට සත්තිස් බෝධි පාක්ෂික ධර්මයන්ම පූරණය කරගත යුතුය යන්න පැහැදිලිව පෙන්වා දෙයි. ඒ බුද්ධ කාරක ධර්මයන් පූරණය කරගැනීමට අනුගමනය කළ යුතු පිළිවෙත් ප්‍රතිපත්ති මහා සතර සතිපට්ඨාන සූත්‍රයේ පැහැදිලිව සඳහන් වෙයි. මේ ඒකායන මාර්ගය පිළිනොගන්නා මහායාන බුදුදහමෙහි කිසිවිටෙකත් සත්තිස්බෝධිපාක්ෂික ධර්මයන් ගැන කථා නොකරයි. බෝසත් පාරමිතා පිරීමට එකම මාර්ගය සේ සද්ධර්ම පුණ්ඩරික සූත්‍රයෙන් පෙන්වා දෙයි.

21. ඉන්දියාවේ දී මහායානික බෞද්ධ පොත්පත් ලියූ පඬිවරයෙකු වූ මංජු ශ්‍රී පාරමිතා සූත්‍ර 21 ක් ලියා පළකර පාරමිතා පිරීමේ අවශ්‍යතාවය පෙන්වා දුන් පසුව ඒ බලපෑම හෙළබිම තුළත් අභයගිරිය හරහා ප්‍රචලිත විය. මේ අභයගිරිය මුල්කොටගත් පාරමිතා පුරන්නටම කැපවූ බෞද්ධ ජනතාවට ඒ සඳහාම පෙළඹවීමට පසුකාලීනව ජාතක කථා ලිවීම හා ජාතක කථා කියවීම ද සිදුවූයේ පොලොන්නරු යුගයෙන් පසුවය. ජාතක කථා පන්සිය ගණනකම ඇත්තේ මංජු ශ්‍රී ලියූ පාරමිතා සූත්‍ර 21 ට අදාළව ඒ ඒ පාරමිතාවන් පිරීමේ අවශ්‍යතාවය මතුකර පෙන්වා දෙන්නටය. මේ අනුව මේ ජීවිත කාලයේ දී එක පාරමිතාවක් සම්පූර්ණ කර ගැනීමක් මිස විමුක්ති ඥාන දර්ශනය පූරණය කරගැනීමක් ජාතක කතා සාහිත්‍යයේ නැත. පදපරම පුද්ගලයින්ට එහි යම් ආදර්ශනයක් ලබා ගත හැකි බව පෙනෙතත් ධර්මාවබෝධයෙන් සත්තිස් බෝධිපාක්ෂික

ධර්මයන් පූරණය කර ගැනීමේ අවශ්‍යතාවය යටපත්ව අභාවයට පත්වන්නටත් මේ ජාතකකථා ද හේතුවිය. පසුව ඒවා සංස්කෘතික අංගයන් ලෙස රඟපාන්නට ද උපකාර කරගත්හ. වෙස්සන්තර නාට්‍යය, ගුත්තිල නාට්‍යය උදාහරණයෝය.

22. ලලිත විස්තරය, දිව්‍යාවදානය වැනි බුද්ධචරිතය අලලා සංස්කෘත භාෂාවෙන් ඉන්දියාවේ දී ලියා පළ කරන ලද චරිතාපදාන කතා මහායානිකයින් අතරේ ජනප්‍රිය විය. ඒවා අද්භූත, ආශ්චර්යයන් හා ඉර්ධි ප්‍රාතිහාර්යයන් මුල්කොටගත් මනුස්සත්වය ඉක්මවූ දේවත්වය බ්‍රහ්මත්වයට සමාන කොට බෝසත් චරිතයක් ගොඩ නැගූ සාහිත්‍ය පොත් මිස යථාවාදී ඒවා නොවේ. මේ අනුව බුද්ධ චරිතයම මුල්කොට බෞද්ධ සාහිත්‍යයක්, බෞද්ධ සංස්කෘතියක් පසුකාලීනව ගොඩනැගුනේ මහායාන බුදුදහම හරහාය.

23. මුල් බුදුදහමෙහි විපස්සනා ධූරය පිරීමම වැදගත් කොට සැලකීය. ධර්මය ඉගෙනගත යුත්තේ පිළිවෙත, ප්‍රතිපත්තිය පිරීම සඳහාමය. නමුත් පසුකාලීන මහායාන බුද්ධාගමේ විපස්සනාධූරය අමතක කර ග්‍රන්ථධූරය පිරීම මුල් තැනට පත්කර ගැනීමෙන් බුදුදහමෙහි ඒකායන පරමාර්ථය වූ විමුක්ති මාර්ගය යටපත් වී ප්‍රාර්ථනා කිරීමේ සිරිතත් උපාධි ලබාගෙන උගතුන් බිහි කිරීමේ සිරිතත් ඉතිරි විය. අද බෞද්ධ පාලි විශ්වවිද්‍යාලයේ උපාධි ලබාදීමට හා උපාධි ලබාගන්නට පමණක්ම බුද්ධාගම උගන්වයි. ඉගෙන ගනී. එය බුද්ධ ධර්මය නම් නොවේ.

## 20. නිබ්බානං පරමං සුඛං

ධර්මාවබෝධය - යථාභූතඥාණ දර්ශණය යන්න අධ්‍යාත්මික පාරිශුද්ධිය මතම පිහිටන දෙයක් මිස, භාෂාවක වචන කටපාඩම් කරගත් පමණින් හෝ විවිධ භාෂාවන් ඉගෙනගත් පමණින් හෝ ලබාගත හැකි දෙයක් නොවේ. භෞතික වශයෙන් ඉගෙනීමක් ලබා උපාධි ලබාගත් පමණින් හෝ රට රාජ්‍යයන් හි ගොස් මිල මුදල් උපයාගත් පමණින් හෝ පරම්පරාවෙන් කුලවතුන් වූ පලියට හෝ මෙම අධ්‍යාත්මික පාරිශුද්ධිය ලබාගත නොහැකි බව සෑම බෞද්ධයෙකුම තේරුම් ගැනීම වඩාත් වැදගත් ය. රාගී සිතක්, ද්වේශ සහගත සිතක්, මෝහ සහගත සිතක් පුද්ගලයා තුල පවතිනතාක් අධ්‍යාත්මික පාරිශුද්ධතාවයක් හෝ යථාභූතඥාණ දර්ශණයක් හෝ සම්මා දිට්ඨියට පත්වීමේ හැකියාවක් හෝ ලැබෙන්නේ ද නැත. මහණ වූ දා පටන් සිල්වතක් රැකීමෙන් හෝ අන්තවාදී අන්තගාමී ධුධාංගයන් රැකීමෙන් හෝ මේ අධ්‍යාත්මික පාරිශුද්ධිය ලබාගත නොහැකිය. හේතුපල දහමට බහා ගලපා බලා හේතුව වැරදිනම් එය ඉවත් කර හෝ හේතුව වෙනස් කර කටයුතු කිරීමෙනුත් ණය විනයට සසඳා බලා නයෙන් මිදී නිදහස් වන ලෙසින් කටයුතු කිරීමෙනුත් ඒ යහපත් ප්‍රතිපත්තිය නිබඳවම භාවිතයට ගැනීමෙනුත් මේ අධ්‍යාත්මික පාරිශුද්ධතාවය ශාක්ෂාත් කරගත හැකිවෙනු ඇත. එය කුසලස්සඋපසම්පදා යන මාගධි පදයෙන්ද අර්ථ ගැන්වීය. මේ සඳහා සේවිතබ්බා අසේවිතබ්බා මූලධර්මයන් තේරුම්ගෙන එය භාවිතයට ගැනීමෙන්ම අධ්‍යාත්මික පාරිශුද්ධත්වය තහවුරු කරගත හැකිවෙනු ඇත.

සම්මා දිට්ඨියට පත්වීමට, චතුරාර්ය සත්‍යයන් යථා පරිදි අවබෝධකර ගැනීමට, පැවැත්ම හා පංචස්කංද උපාදානය

පිළිබඳව දැක්ම පිරිසිදු කරගන්නට, ධර්මාවබෝධයම උපකාර වෙයි. ධර්මාවබෝධයෙන් යුතුව ධම්මානු ධම්ම පටිපදාවෙහි පිහිටා කටයුතු කර නිබ්බිදා තත්වයට පත්වීමෙන්ම මිස කෙලෙස් මුල් තුන එනම් රාගමුල, ද්වේෂමුල, මෝහමුල කපා දමා සදහටම දුක් පැවැත්මෙන් මිදී නිදහස් විය නොහැකිමය.

මේ අනුව අධ්‍යාත්මික පාරිශුද්ධිය යනු උගත්කම නොවේ. බුද්ධිමත්කමද නොවේ. මිල මුදල් හෝ දේශපාලන බලතලද නොවේ. ත්‍රිපිටකය මුලසිට අග දක්වාත් අගසිට මුල දක්වාත් කටපාඩමෙන් කියවන්නට හැකිවනසේ කටපාඩම් කර ගැනීමද යථාභූත ඥාණ දර්ශණය නොවේ.

බුදු දහම යැයි පසු කාලීනව ලියා පල කරණ ලද අපට අද කියවන්නට ඇති අටුවා ටීකා, ටිප්පනි මෙන්ම ඛුද්දක නිකායට අයත් පොත්පත් සියල්ලමත්, බුද්ධවංශ දේශණාව, අනාගත වංශදේශණාව ධම්මපදට්ඨ කථා හා අනෙකුත් පසුකාලීනව ලියූ පොත්පත් කිසිවෙකුත් බුදු දහම යැයි කෙනෙකු එක එල්ලේ පිළිගත යුතු නොවේ. "මා පිටක සම්පදානේන" යනුවෙන් අපේ ගෞතම බුදුපියාණන් වහන්සේම කාලාමා සූත්‍රයෙන් පැහැදිලිව මෙය සඳහන් කර ඇත. පරියාප්ති ධර්මය පෙන්වා වදාල මුල් ත්‍රිපිටකයට අදාල වූ දේ පවා ඒ අයුරින්ම එසේම පිලිගත යුතු නොවන බව බුදුපියානන්ම පෙන්වා දුන් සත්‍යයකි.

හැම ආගමකම පිළිගත් ලියවිල්ලක් පිටකය ලෙසින් භාවිතයේ පවතී. උපනිශද් ධර්මයේ පිලිගත් පිටකය භගවත්ගීතාවයි. මහායානික බුද්ධාගමේත් වෛතුල්‍යවාදී පිටකයක් ඇත. සද්ධර්ම පුණ්ඩරික සූත්‍රය එහි මූලික හරය පෙන්වා දෙයි. බයිබලය ක්‍රිස්තියානි දහමේ පිටක ලියවිල්ලයි. කුරාණය මුස්ලිම් ආගමේ පිටකයයි. විශුද්ධිමාර්ගය අපේ හෙලබිමේ අද පවතින සම්මත බුද්ධාගමේ පිටකය ලෙසින්

සලකා කටයුතු කරයි. එය නිර්මල බුද්ධ ධර්මය නොවේ. විශුද්ධිමාර්ගය ගුරුකොට ගරුකොට ලියූ කිසිම පොතක් පතක් බුද්ධ ධර්මය යැයි සැලකීමද වැරදිය. බුද්ධපරිනිර්වානයෙන් පසුව ලියූ බුද්දක නිකායේ පොත් පත් හෝ පාලියෙන් ලියූ අටුවා කථා පොත්පත් හෝ නිර්මල බුද්ධ භාෂිතය නොවන බවද සියළු බෞද්ධයින් විසින්ම යථාපරිදි තේරුම් ගත යුතුය.

ධර්මයේ නාමයෙන්ම, ධර්මයේ මුහුණුවරින්ම අධර්මයද හැම විටකම ඔලුවඋස්සන්නට උත්සාහ දරයි. මෝඩ ගුඪ භක්තිමත් බුද්ධාගම් අදහන්නන්ට කිසිවිටකත් ධර්මය හා අධර්මය අතර ඇති වෙනස යථාපරිදි තේරුම් ගන්නටද නොහැකිය. විශුද්ධි මාර්ගය ලියා ඇත්තේ මෙවන් භක්තියෙන් කටයුතු කරන්නන් සඳහාය. හෙලබිම බෞද්ධ ප්‍රතිපත්තීන් ලෙස මේ වන විට මහායානික මත හා වැඳුම්, පිදුම්, යැදුම්, පැතුම් බලවත් සේම මුල්බැසගන්නට හේතුව වූයේද ඒවා බුදුදහම නාමයෙන්ම මිනිසුන්ගේ සිත්වල පාරම්පරිකව මුල්බැස ගෙන පැලපදියම් වීමේ කරුමයයි.

පරම්පරා කිහිපයක්ම අන්ධභක්තියෙන් ගරු කළ සමහරක් මත, සංස්කෘතිකාංග හා සිරිත් විරිත් විමසා නොබලා ඒ අයුරින්ම දිගින් දිගටම ගරු කිරීම නොදියුණු සමාජයක මූලිකම දුර්වලකමකි. මේ පාරම්පරික වැරදි සිතුවිලි පරම්පරාවෙන් මිදී නිදහස් වන්නට නම් නිවහල්ව, නිදහස්ව, කරුණු සොයා බලා හේතුපල දහමට බහා ගලපා බලා හේතුව වැරදි නම් ඉන් මිදී නිදහස්වන්නටම උත්සාහ දරණ මිනිසුන් පිරිසක් බිහි කළ යුතුය. පරම්පරාගතව පිළිගත් සමහර මතයන් යහපත් උනත් හැම තැනටම, හැමදේටම, හැමධර්මතාවයටම ඒවා සුදුසුයැයි ගැනීම බලවත්ම මුලාවකි. දුර්වලකමකි. නිවනට බාධකයකි.

ලෝකයාගෙන් බහුතරයක් පෘතග්ජන අස්සුතවත් මිනිසුන්ය. බහුතරයකගේ මතය මැන බැලීම සමහර තැනකදී කල යුතුය. ලෞකිකවූත්, භෞතිකවූත්, දේශපාලනය, නීති පැනවීම, ආදායම් බෙදීයාම වැනි සාමාන්‍ය මහජන මතය උරගා බැලිය යුතු ලෞකික වැඩ වලදී බහුතර මතය හොඳ උනත් ලෝකෝත්තර නිවන්මග සොයන සුතවත් ආර්යශ්‍රාවකයින්ට එවැනි සම්මතයන් හා බහුතර මතය නොගැලපෙනු ඇත. පරම සත්‍යය පෙන්වාදෙන ධර්මදේශනවලදී මෙවන් ලෞකික සමාජ සම්මත පිළිගත් දේ වලට පහර වැදීමද අනිවාර්යය සිදුවීමකි. පරම සත්‍යය මතුකරණ විට පිළිගත් සමාජ සම්මත මහජන මතය සළකන්නට අවශ්‍යතාවක් නැත. බහුතරයක් මහජනයාගේ සිත් රාගයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් හා මානයෙන් කිලිටිවූ සිත්ය. ඒ කිලිටි වූ සිත් සියල්ලම පූර්ණ වශයෙන් පිරිසිදු කරන්නට හැකි කිසිම ආගමක් දහමක් ලොව නැත. ලොව්තුරා බුදුකෙනෙක් බුද්ධත්වයට පත්වී දේශණාකරණ ධර්මය පවා බහුතරයක් පිලිගන්නේ නැත. එදා පරිබ්‍රාජකයින්, බ්‍රාහ්මණයින්, නිගන්ඨයින් අන්‍යාගමික තීර්තකයින් හා මහණ බමුණන් ද ගෞතම බුදුන් වහන්සේ දේශණා කළ පරම සත්‍යය පිළිනොගත්හ. සියළු රජවරුන්ම එදා බුදු දහම පිළිගත්තේ ද නැත.

පසුගිය වසර දහයක් (10) පමණ වූ කාලයක් තුල කරණලද දේසනා අනුසාරයෙන් පරම සත්‍යය හෙළිදරවු කිරීමෙන්ද පොත්පත්වල දහම ලියවීමෙන්ද බෞද්ධ-අබෞද්ධ බොහෝ ජනයා අතරේ පිවිතුරු බුද්ධ ධර්මය යනු කුමක්ද යන්න සෙවීමේ අවංක අවශ්‍යතාවයක් දැන් දැන් මතුවෙමින් පවතී. මෙය ආගමික කෝලාහලයක් හෝ කැළඹීමක් ලෙසින්ද දැකිය හැකි නමුත් නොමගගිය බොහෝමයක් සම්මත බෞද්ධයින්ටද යහපතක්

සිදුවන්නටම මේ හෙළිදරව්ව මුල්වන බවත්, නිවැරදි බුදු දහම කුමක්දැයි තේරුම්ගන්නට උපකාරවෙන බවත් දැන් කවුරුත් පිළිගනිති. "අසවල් පොතේ මේ ගැන මීට වෙනස් මතයක් පෙන්වා දී ඇත. අසවල් සමාජ සම්මත යතිවරයානන් මීට වෙනස් මතයක් ප්‍රකාශ කර ඇත". මේ ආදී වශයෙන් තර්ක විතර්ක කර පරම සත්‍යය යටපත් කරන්නට උත්සාහ දැරීම ප්‍රඥාගෝචර නොවේ. ඉමේ ධම්මා කුසලා, ඉමේ ධම්මා අනවජ්ජා, ඉමේ ධම්මා විඤ්ඤුඋපසංහිතා නම් එය අනුගමනය කරන්න. ඉන් ඔබේ අධ්‍යාත්මය පිරිසිදුවේ නම් එය භාවිතයට ගන්න. එය එසේ නොවේ නම් බැහැර කරන්න යැයි බුදුපියානන් දේශණා කර වදාලහ. ඔබ ධර්මාවබෝධයක් ලබාගත යුත්තේ භාවිතා කළ යුතු දහම් තෝරා බේරා භාවිතා කරන්නටත් බැහැර කළ යුතු දේ බැහැර කරන්නටත් ය. එය එසේ දැන භාවිතා නොකරන්නේ නම් කුසලස්ස උපසම්පදා යනුවෙන් දේශණා කළ දේ සිදු නොවෙනු ඇත.

බුදුපියානන් වහන්සේ එදා මේ උතුම් නිර්මල ධර්මය දේශණා කරණ 'ලද පරමාර්ථය අද අපි මේ අදහන බුද්ධාගමේ සහමුලින්ම කණපිටපෙරලාගෙන බොහෝ ගිහි පැවිදි දෙපිරිසම කටයුතු කරණ බව දැන් ඔබට පැහැදිලි විය යුතුය. මේ කණපිටපෙරළාගත්තේත් බුද්ධ භාෂිතයම පදපරම ලෙස භාවිතයට ගත් නාමික බෞද්ධයින් පිරිසක්මය. තම තමන්ගේ පෞද්ගලික වාසියටත්, ලාභයටත්, පහසුවටත්, ලේසියටත් දැන දැන හෝ නොදැනම මේ කණපිටගසාගැනීම කාලයක් මුළුල්ලේම කරගෙන ආ බවත් දැන් පැහැදිලිය. මිනිසුන්ට කුසලය අකුසලය අතර ඇති වෙනස පරමාර්ථ වශයෙන් පැහැදිලි කරදී මිනිසුන්ව කුසලයෙහි පිහිටුවා අකුසලයෙන් මුදවා ගන්නට බුද්ධ ධර්මය දේශණා කරණ දේශකයින්

වහන්සේලා අද දැකගන්නට ලැබෙන්නේ ඉතාමත් කලාතුරකිනි. පින්කම්වලට යොමුකරවා ලාභසත්කාරයන් ප්‍රතිලාභ ලෙසින් බලාපොරොත්තු වී කටයුතු කරණ සමාජයක් අද බෞද්ධ සමාජය ලෙසින් පෙන්වා දිය හැකිය. සෑම විහාරස්ථානයකම අද ධර්මදේශණාවක් පවත්වන්නේ ඊට එහා ගිය යටින් පැහැදිලිව පෙනෙන්නට ඇති විහාරගෙයක්, බෝ කොටුවක්, තාප්පයක් හෝ වැසිකිළියක් වත් සාදවා ගැනීමම මුල්කොටගත් චේතනාවෙනි. නමුත් ධර්මදේශණාවක් පැවැත්විය යුත්තේ මිනිසාට සුචරිතය පෙන්වා දී කියාදී දුෂ්චරිතයෙන් මුදවා ගන්නටය. මිනිසාගේ අධ්‍යාත්මික පාරිශුද්ධිය ඇතිකිරීම මුල් පරමාර්ථය විය යුතුමය.

දැන් අපේ මිනිසුන්ට මේ ගැන සිතා බලා කටයුතු කරන්නට කාලයයි. විශේෂයෙන්ම සියලුම පැවිදි වූ ස්වාමීන් වහන්සේලා ද මේ අනුවම ඉවසා විමසා කටයුතු කිරීමෙන් පොදු මහජනතාවටම බුදු දහමෙහි දේශණා කළ විමුක්ති මාර්ගය පහදාදෙන්නට විශාල වගකීමක් ඇති බවද තේරුම්ගත යුතුය. හුදු පෞද්ගලික ලාභ ප්‍රයෝජන හෝ ආත්මාර්ථකාමීව කටයුතු නොකර විමුක්ති මාර්ගය පහදා දෙන්නටම කටයුතු කිරීමට අධිෂ්ඨාන කරගත යුතුමය.

# ධම්ම දේශනාවකින් පසුව පින් අනුමෝදන් කරන ආකාරය

---

පින්වතුනි පැයක පමණ වේලාවක් තුන්සිත පහදා ගත්තා වූ මේ පින්වතුන්ගේ  අවසන් යුතුකම සහ පරමාර්ථය වන්නේ පින් අනුමෝදන් කිරීම පින්දීම පින් පැවරීම. තුන්සිත පහදා ගෙන තමතමන්ගේ යුතුකමක් වගකීමක් හැටියට සියලුම ඥාති මිත්‍රාදීන්ට පින් දීලා, පින් පවරල, පින් පමුණුවල, පින් අනුමෝදන් කරන්නට. එම නිසා මේ සංසාර ගමනේ කවදා කොතැනකදී මොනයම් ආකාරයකින් හෝ තම තමන්ට උදව් කළ, උපකාර කළ, මඟ පෙන්වූ, පිහිටවූ, සම්බන්ධ වූ, සියලුම ඥාති මිත්‍රාදීන්ට, එනම් මවුපියන්ට වැඩිහිටියන්ට ගුරුවරු ඥාති මිත්‍රාදීන්ට, පින් දීලා පින් පවරලා මේ පුණ්‍ය ශක්තියේ බලයෙන් සියළුම ඥාතිමිත්‍රාදීන් සසර දුකින් මිදී නිදහස් වන්නට, නිවන් සුවයෙන් සුවපත් වන්නට මේ පුණ්‍ය ශක්තිය උදවු වේවා, උපකාර වේවා, හේතු වාසනා වේවා,කියල සාදුකාරයක් දෙන්න.

ඒවාගේම සියලුම දෙවි දේවතාවුන් වහන්සේලාට පින් දීලා, පින් පමුණුවලා, පින් අනුමෝදන් කරලා, මේ පුණ්‍ය ශක්තියේ බලයෙන් සියලු දෙවි දේවතාවුන් වහන්සේලාට සසර දුකින් මිදී නිදහස් වන්නට, නිවන් සුවයෙන් සුවපත් වන්නට සියලු දෙවියන්ටත් මේ පුණ්‍ය ශක්තිය උදවු වේවා, උපකාර වේවා, හේතු වාසනා වේවා, කියල සාදුකාරයක් දෙන්න.

ඒ වගේම සියලු භූත, ප්‍රේත පිසාචාදී වූ, අමනුෂ්‍ය කොටස්, තිරිසන් අපාගත සත්ව කොටස්, අසඥ්ඥ තලවල ඉන්නා වූ අනන්ත අප්‍රමාණ සත්වයන් කෙරෙහි අනුකම්පා සිතක් ඇතිව සියලු සත්වයන්ටත් පින් දීලා පින් පවරලා පින් අනුමෝදන් කරලා මේ පුණ්‍ය ශක්තියේ බලයෙන් සියලු සත්වයෝත් සසර දුකින් මිදී නිදහස් වෙත්වා නිවන් සුවයෙන් සුවපත් වෙත්වා කියලා සාදුකාරයක් දෙන්න..

**මේ ගාථාවන් කියලා පින් අනුමෝදන් කරන්න.**

**එත්තාවතාච අම්හේහි.....**

**ඉදං මේ.....**

**ඉමිනා....**